# පඨමො පාඨො

## පාඨාලයො




සිසෙසා පාඨාලයං ගච්ඡති. ආචරියො සිසෙස විනෙති. පාඨාලයෙ අට්ඨපන්තියො සන්ති. අහං අක්ඛරඵලකෙ අක්ඛරානි ලිඛාමි. මයං පොත්ථකානි පඨාම. පාඨාලයෙ පීඨානි සන්ති. සිස්සානං හත්ථෙසු ලෙඛනියො විජ්ජන්ති. මයං අඞ්කානි උග්ගණ්හාම. ඉදං මම පීඨං භවති. පාඨාලයස්ස අඞ්ගණං අත්ථි. ආචරියො වෙත්තෙන සිස්සං පොථෙති.

(පාළි රචනා 1 )

**පදමාලාව**

| | | | |
|---|---|---|---|
| **සිසෙසා** | - ශිෂ්‍යයා | **පාඨාලයං** | - පාසලට |
| **ආචරියො** | - ගුරුවරයා | **අට්ඨ** | - අට |
| **පන්තියො** | - ශ්‍රේණි/පන්ති | **අහං** | - මම |
| **අක්ඛරඵලකෙ** | - අකුරු පුවරුවෙහි | **පීඨානි** | - පුටු |
| **හත්ථෙසු** | - අත්වල | **ලෙඛනියො** | - පෑන්/පැන්සල් |
| **අඞ්කානි** | - ඉලක්කම්/අංක | **අඞ්ගණං** | - මිදුල |
| **වෙත්තෙන** | - වේවැලෙන් | **පොථෙති** | - තළයි |

## අභ්‍යාස

**කුහිං** - කොහි
**කෙ** - කවුරුන්
**කති** - කීයද
**කිං** - කුමක්
**කත්‍ථ** - කොහි
**කානි** - මොනවා
**කෙන** - කුමකින්
**අත්‍ථි නු බො** - ඇත් ද

පහත දැක්වෙන ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

උදා:- **සිස්සා කුහිං ගච්ඡන්ති? සිස්සා පාඨාලයං ගච්ඡන්ති.**

i. ආචරියො කෙ විනෙති?
ii. පාඨාලයෙ කති පන්තියො සන්ති?
iii. අහං අක්ඛරඵලකෙ කිං කරොමි?
iv. ලෙඛනියො කත්‍ථ විජ්ජන්ති?
v. පාඨාලයෙ කානි සන්ති?
vi. මයං කානි උග්ගණ්හාම?
vii. ආචරියො කෙන සිස්සං පොධෙති?
viii. අත්‍ථි නු බො පාඨාලයස්ස අඞ්ගණං?

## පාලි අක්ෂර මාලාව

ලිවීමෙන් හෝ කියවීමෙන් අවසන්වීමක්, ක්ෂයවීමක් නොවන නිසා අක්ෂර නමින් හැඳින්වෙන සංකේත 41 ක් පාලි භාෂාවේ පවතින බව අපි දනිමු. පිළිවෙළට සකස්කර ගත් විට එම අක්ෂර 'අක්ෂරමාලාව' හෝ 'වර්ණමාලාව' යන නම්වලින් හැඳින්වෙයි. එම අක්ෂර මාලාව ස්වර සහ ව්‍යඤ්ජන වශයෙන් ප්‍රභේද දෙකකි. ස්වර ගණනින් අටකි. ව්‍යඤ්ජන තිස්තුනකි. පහත දැක්වෙන්නේ එම පාලි අක්ෂර මාලාවයි.

ස්වර

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| අ | ආ | ඉ | ඊ | උ | ඌ | එ | ඔ |

ව්‍යඤ්ජන

| | | | | |
|---|---|---|---|---|
| ක | ඛ | ග | ඝ | ඞ |
| ච | ඡ | ජ | ඣ | ඤ |
| ට | ඨ | ඩ | ඪ | ණ |
| ත | ථ | ද | ධ | න |
| ප | ඵ | බ | භ | ම |
| ය | ර | ල | ව | |
| ස | හ | ළ | | |
| (අ)ං | | | | |

ස්වර තනිව උච්චාරණය කළ හැකි අතර ව්‍යඤ්ජන උච්චාරණය කිරීමට ස්වරයන්ගේ උපකාරය අවශ්‍ය වෙයි. ස්වර සහ ව්‍යඤ්ජන ප්‍රභේද මේ වනවිටත් අපි උගෙන ඇත්තෙමු. මෙම පාඩමේදී දීර්ඝ ස්වර ලෙස භාවිත වන 'එ' කාරයේ හා 'ඔ' කාරයේ නිවැරදි ලේඛනය හා උච්චාරණය ඉගෙන ගනිමු.

**එකාර ඔකාර භාවිතය**

'එ' කාරය හා 'ඔ' කාරය හ්‍රස්ව අකුරු ලෙසත්, දීර්ඝ අකුරු ලෙසත් භාවිත වන බව අපි නොයෙක් අවස්ථාවල දැක ඇත්තෙමු. පහත වාක්‍ය ඒ අනුව උච්චාරණය කරන්න.

එවං මෙ සුත්තං එකං සමයං භගවා
දෙවො වස්සතු කාලෙන.
මනසා චෙ පසන්නෙන
අප්පමාදෙන සම්පාදෙථ.
ආචරියො සිස්සෙ විනෙති.
යන්තං සන්තං පදං අභිසමෙච්ච
කච්චි තෙ මොග්ගල්ලාන.

වන්දාමි **චෙතියං** සබ්බං.
පූජෙමි බුද්ධං **කුසුමෙනනෙන.**
අධිවාසෙතු නො **භන්තෙ.**
**මෙත්තං** ච සබ්බලොකස්මිං

ඉහත වාක්‍යවල **එවං, මෙ, එකං, දෙවො, කාලෙන, චෙ, අප්පමාදෙන, සම්පාදෙථ, සිසෙස, තෙ** ආදි පදවල තනිව හා ව්‍යඤ්ජන සහිතව යෙදුණු 'එ' කාරය දීර්ඝව උච්චාරණය වන බව වැටහෙනු ඇත.

එසේ ම **අභිසමෙච්ච, මෙත්තං** යන පදවල යෙදී ඇති 'එ' කාරය හ්‍රස්ව ලෙස උච්චාරණය වන බව ද පෙනී යයි.

**දෙවො, නො, ලොකස්මිං** යන නාමපද හා යෙදී ඇති ඔ කාරය දීර්ඝ ලෙසත් **මොග්ගල්ලාන** යන්නෙහි ඇති 'ඔ' කාරය හ්‍රස්ව ලෙසත් උච්චාරණය වන බව ද තේරුම් ගන්න.

**සංයෝගාක්ෂරයක් හෙවත් බැඳි අකුරක් 'එ' කාරයට හා 'ඔ' කාරයට පසුව ඇති විට එම 'එ' කාරය හා 'ඔ' කාරය හ්‍රස්ව ලෙස උච්චාරණය වේ. සංයෝගාක්ෂරයක් නොමැති විට දීර්ඝ වේ.**

**එත්ථ, සෙය්‍යො, ඔට්ඨො, සොත්ථි** යන පදවල **ත්ථ, ය්‍යො, ට්ඨො, ත්ථි** යන අක්ෂර සංයෝගාක්ෂරයි. එම සංයෝගාක්ෂරවලට මුලින් යෙදුණු 'එ' කාරය හා 'ඔ' කාරය හ්‍රස්ව ලෙස උච්චාරණය වෙයි. **එවං, මෙ, එකං, ඔනද්ධා, සොකං, ලොකං** ආදි වචනවල 'එ' කාරයට හෝ 'ඔ' කාරයට පසුව ඇති අක්ෂරය සංයෝගාක්ෂරයක් නොවන නිසා එම වචනවල යෙදුණු 'එ' කාරය හා 'ඔ' කාරය දීර්ඝ ලෙස උච්චාරණය වෙයි.

## එ කාර භාවිතය

| හ්‍රස්ව ලෙස | | දීර්ඝ ලෙස | |
|---|---|---|---|
| එත්ථ, | මෙත්තං | එතෙන, | එහි |
| වෙජ්ජො, | ලෙඩ්ඩු | එළකා, | එකදා |
| සෙට්ඨො, | ජෙට්ඨො | එතෙ, | සෙවති |
| ඛෙත්තං, | පෙය්‍යං | කෙදාරං, | වෙදනා |
| ගෙය්‍යං, | සෙය්‍යං | ලෙඛනී, | ගාරවෙන |
| භවෙය්‍යං, | නිම්මාපෙත්වා | මෙධාවී, | දෙවෙ |

## ඔ කාර භාවිතය

| හ්‍රස්ව ලෙස | දීර්ඝ ලෙස |
|---|---|
| ඔට්ඨො | ඔදාත |
| සොත්ථි | ඔදනං |
| පොට්ඨපාද | ඔනද්ධා |
| මොග්ගල්ලාන | සොකං |
| කොණ්ඩඤ්ඤ | ලොකං |

‘එ’ කාරය හා ‘ඔ’ කාරය වචනයක මුල හෝ මැද සංයෝගාක්ෂරයකට මුලින් යෙදී හ්‍රස්ව ලෙස උච්චාරණය වුව ද ශබ්දාන්තයක යෙදෙන විට දීර්ඝ ලෙස පවතියි.

| | |
|---|---|
| ලොකෙ | සොකො |
| පාසාණෙ | බාලකො |
| දීපෙ | වානරො |
| නභෙ | මනුස්සා |
| අජෙ | වාණිජො |

සංයෝගාක්ෂරයකට මුලින් 'එ' කාර 'ඔ' කාර දෙක සමහර තැනක හ්‍රස්ව ලෙස උච්චාරණය වේ **(සංයොගතො පුබ්බෙ එ ඔ රස්සා ඉවොච්චන්තෙ කච්චි)** යන බාලාවතාර පාඨය අනුව 'එ' කාර, 'ඔ' කාර දෙක සංයෝගාක්ෂරයකට මුලින් පැවතුන ද දීර්ඝ ව උච්චාරණය වන තැන් ද දැකිය හැකි ය. පහත දැක්වෙන වාක්‍ය නිරීක්ෂණය කරන්න.

**කම්මස්සකො'ම්හි** කම්මදායාදො කම්මයොනි ....
**පුත්තො'ත්‍යාහං** මහාරාජ
**මුත්තොම්හි**

**කම්මස්සකො'ම්හි, පුත්තො'ත්‍යාහං, මඤ්ඤෙව්‍යං, මුත්තොම්හි** යන වචනවල එ කාරය හා ඔ කාරය සංයෝගාක්ෂරවලට මුලින් යෙදී තිබුණ ද දීර්ඝව උච්චාරණය වී ඇති බව ඔබට පෙනෙනු ඇත. මෙසේ දීර්ඝව යෙදී ඇති වාක්‍ය හැකි තරම් එකතු කර ගන්න.

## සංයෝගාක්ෂර හෙවත් බැඳි අකුරු ලිවීම

සංයෝගාක්ෂර යනු බැඳි අකුරුයි. '**සංයෝග**' යන්න ''**අනන්තරා ව්‍යඤ්ජනා සංයොගො**'' යනුවෙන් බාලාවතාරයේ හැඳින්වේ. අතරතුර ස්වරයක් නොමැති ව්‍යඤ්ජන 'සංයෝග' නම් වේ යනු එහි අදහසයි. පාලි භාෂාවේ සංයෝග හෙවත් බැඳි අකුරු සෑදෙන ආකාර කිහිපයකි.

- මුලින් ඇති අකුරේ හල් බව දැක්වීමට පසුව ඇති අකුර බැඳ ලියනු ලැබේ.

**ස්ස** - **ස්ස** - **අස්ස**
**ප්ප** - **ප්ප** - **කප්ප**
**ණ්ඩ** - **ණ්ඩ** - **දණ්ඩ**
**ග්ඝ** - **ග්ඝ** - **තග්ඝ**

- මුලින් ඇති අකුරේ අඩක් ලියා පසුව ඇති අකුර බැඳ ලිවීමෙන් මුලින් ඇති අකුරේ හල් බව දැක්වේ.

ත්ථ - ත්‍ථ - තත්‍ථ
ත්ව - ත්‍ව - ත්‍වං
න්ථ - න්‍ථ - පන්‍ථකො
න්ධ - න්‍ධ - අන්‍ධකාරො

● හල් අකුරකට පසුව ‘ය’ කාරය ඇති විට එම ‘ය’ කාරය ‘්‍ය’ බවට පත් වීමෙන් මුලින් ඇති අකුරේ හල් බව දැක්වේ.

ත්ය - ත්‍ය - ත්‍යාහං
බ්ය - බ්‍ය - බ්‍යඤ්‍ජනං
ව්ය - ව්‍ය - උදයව්‍යයං
ය්ය - ය්‍ය - ගෙය්‍යං

● හල් අකුරකට පසුව කොම්බුව සහිත අකුරක් යෙදී ඇති විට කොම්බුව මුලට ගෙන අකුරු දෙක බැඳ ලිවීමෙන් පළමු අකුරේ හල් බව දැක්වේ.

න්තෙ - න්‍තෙ - හන්‍තෙ
න්ධො - න්‍ධො - අන්‍ධො
ය්යො - ය්‍යො - සෙය්‍යො
ස්සො - ස්‍සො - අස්‍සො

● හල් අකුරකට පසුව ‘ර’ කාරය ඇති විට රකාරාංශය ලිවීමෙන් එහි හල් බව දැක්වේ.

ත්ර - ත්‍ර - තත්‍ර
ත්රා - ත්‍රා - අත්‍රාගච්‍ඡන්‍තු
බ්ර - බ්‍ර - බ්‍රහ්ම
බ්රෑ - බ්‍රෑ - බ්‍රෑහි

● පැරණි පාලි ග්‍රන්ථවල මුලින් ඇති අකුරේ හල් බව දැක්වීමට එහි අඩක් පසුව ඇති අකුර හා බැඳ ලියනු ලැබේ.

ද්ධ - ඞ - බුඞාය
ඤ්ච - ඦ - පඦමී

## අභ්‍යාස

**1. පහත දැක්වෙන ප්‍රශ්නවලට කෙටි පිළිතුරු ලියන්න.**

i. පාලි අක්ෂර මාලාවේ අක්ෂර ගණනින් කෙතෙක් ද?
ii. ස්වර ප්‍රභේද දෙක නම් කරන්න.
iii. දීර්ඝ ස්වර ලියා දක්වන්න.
iv. එ කාරය හා ඔ කාරය හ්‍රස්ව ලෙස උච්චාරණය වන ආකාරය පෙන්වා දෙන්න.
v. සංයෝගාක්ෂර හෙවත් බැඳි අකුරු සෑදෙන ආකාරය නිදසුන් මගින් දක්වන්න.

**2. පහත දැක්වෙන වගු සම්පූර්ණ කරන්න.**

1 වගුව

| එ කාරය හ්‍රස්වව යෙදුණු පද | ඔ කාරය හ්‍රස්වව යෙදුණු පද |
|---|---|
| i | |
| ii | |
| iii | |
| iv | |
| v | |

2 වගුව

| එ කාරය දීර්ඝව යෙදුණු පද | ඔ කාරය දීර්ඝව යෙදුණු පද |
|---|---|
| i | |
| ii | |
| iii | |
| iv | |
| v | |

3. පහත අක්‍ෂරයන්ගේ වචනවල ස්වර ව්‍යඤ්ජන වෙන්කර දක්වන්න.

i. පාඨාලයං
ii. සුරියො
iii. චන්‍දං
iv. සාගරො
v. බාලකෙන
vi. පොත්ථකං
vii. පණ්ඩිතො
viii. වෙජ්ජො
ix. සිස්සා
x. ආචරියො

4. සංයෝගාක්‍ෂරයකට මුලින් යෙදුණ ද එ කාරය හා ඔ කාරය දීර්ඝව උච්චාරණය වන වචන පහ බැගින් සොයා ලියන්න.

5. පහත දැක්වෙන පද සිංහලට නගන්න.

i. මනුස්සෙසු
ii. සුනඛස්ස
iii. ගජම්හා
iv. රුක්ඛෙ
v. වානරෙහි
vi. යක්ඛානං
vii. දෙවො
viii. පුරිසෙ
ix. සප්පුරිසො
x. පණ්ඩිතස්ස

6. පහත දැක්වෙන පද පාලියට නගන්න.

i. වැද්දා
ii. මව
iii. ගුරුවරු
iv. ගෙඩි
v. ශිල්ප
vi. හිඟන්නා විසින්
vii. අපි
viii. කුමාරයා කෙරෙහි
ix. නුඹලා
x. ගොවියන්ගේ

**අපෙතො දමසච්චෙන, න සො කාසාවමරහති**

**ඉඳුරන් දමනයෙන් හා සත්‍ය කතා කිරීමෙන් තොර වූ තැනැත්තා සිවුරු දැරීමට නුසුදුසුය.**

**(ධම්මපදපාළි, යමකවග්ග, 9 ගාථාව)**

# දුතියො පාඨො

## චන්දො



චන්දො රත්තියං උදෙති. තස්මිං සමයෙ නක්ඛත්තානි විජ්ජන්ති. චන්දො නක්ඛත්තානං රාජා භවති. චන්දකිරණං සීතලං හොති. චන්දකිරණෙන කුමුදානි විකසන්ති. චන්දස්ස කලා අත්ථි. පණ්ණරසියං චන්දො සම්පුණ්ණො විජ්ජොතති. කාලපක්ඛෙ චන්දො හායති. සුක්කපක්ඛෙ සම්පුණ්ණො භවති. තස්ස කලඞ්කම්පි අත්ථි. තං කලඞ්කං සසඞ්කන්ති වදන්ති. තස්මා සසඞ්කොති'පි චන්දස්ස නාමං. චන්දො එකො දෙවො'ති පොරාණිකා චින්තෙසුං. සම්පති විජ්ජාවාදිකා එකො ලොකො'ති වදන්ති. මයම්පි තං මතං සච්චන්ති මඤ්ඤාම.

(පාලි රචනා 1)

**පදමාලාව**

| | | | | | |
|---|---|---|---|---|---|
| **චන්දො** | - | සඳ | **රත්තියං** | - | රාත්‍රියෙහි |
| **උදෙති** | - | උදාවෙයි | **තස්මිං සමයෙ** | - | එසමයෙහි |
| **නක්ඛත්තානි** | - | තරු | **විජ්ජන්ති** | - | විද්‍යමාන වෙති |
| **රාජා** | - | රජ | **චන්දකිරණං** | - | සඳකිරණ |
| **කුමුදානි** | - | කුමුදු | **විකසන්ති** | - | පිපෙති |
| **කලා** | - | කලා | **පණ්ණරසියං** | - | පසළොස්වක දින |
| **සම්පුණ්ණො** | - | පිරුණේ | **සුක්කපක්ඛෙ** | - | පුරපස |
| **විජ්ජොතති** | - | බබළයි | **කාලපක්ඛෙ** | - | අවපස |
| **හායති** | - | පිරිහෙයි | **කලඞ්කං** | - | කැළලක් |

| | | | | | |
|---|---|---|---|---|---|
| **සසඞ්කො** | - | සසලකුණ | **තස්මා** | - | ඒ නිසා |
| **සම්පති** | - | දැන් | **විජ්ජාවාදිකා** | - | විද්‍යාඥයෝ |
| **මඤ්ඤාම** | - | සිතමු | **තං** | - | එය |

## අභ්‍යාස

| | | | | | |
|---|---|---|---|---|---|
| **කො** - | කවරෙක් | **කෙන** - | කුමකින් | **කීදිසො** - | කෙබඳු |
| **කිං** - | කුමක් ද | **කෙ** - | කවරහු | | |

1. පහත දැක්වෙන ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

උදා:- **කො රත්තියං උදෙති? චන්දො රත්තියං උදෙති.**

i. කො නක්ඛත්තානං රාජා භවති ?
ii. කෙන කුමුදානි විකසන්ති ?
iii. පණ්ණරසියං චන්දො කීදිසො භවති ?
iv. කිං චන්දස්ස අපරං නාමං ?
v. චන්දො දෙවො'ති කෙ චින්තෙසුං ?
vi. විජ්ජාවාදිකා චන්දස්ස කිං වදන්ති ?
vii. චන්දකිරණං කීදිසං භවති ?
viii. නක්ඛත්තානි කදා විජ්ජන්ති ?
ix. කිං ත්වං චන්දං ලොකන්ති මඤ්ඤසි, උදාහු දෙවන්ති ?

## පාලි අක්ෂර මාලාව

පාලි අක්ෂර මාලාවේ අක්ෂර 41 ක් **(අක්ඛරාපාදයො එකචත්තාළීසං)** ඇති බවත් එය ස්වර හා ව්‍යඤ්ජන වශයෙන් ප්‍රභේද වන බවත් අපි පළමුවන පාඩමේ දී ඉගෙන ගත්තෙමු. ස්වර උච්චාරණ කාලය අනුව හ්‍රස්ව හා දීර්ඝ වශයෙන් කොටස් දෙකකට බෙදෙන බව ද, 'එ' කාරය හා 'ඔ' කාරය හ්‍රස්ව දීර්ඝ වශයෙන් භාවිත වන ආකාරය ද ඔබ හොඳින් දන්නා කරුණකි. මෙම පාඩමේ දී ව්‍යඤ්ජනාක්ෂර පිළිබඳ ඉගෙන ගනිමු.

## ව්‍යඤ්ජන

ව්‍යඤ්ජන යනු හල් අකුරුයි. ඒවා තනිව උච්චාරණය කළ නො හැකි ය. ස්වර එක්කර ගත් විට ව්‍යඤ්ජන පහසුවෙන් උච්චාරණය කළ හැකි ය. එබැවින් ව්‍යඤ්ජනවලට **නිසිත** යන අපරනාමයක් ද වේ. අර්ථය හා ශබ්දය ව්‍යක්ත කරවන යන අරුත් ඇති බැවින් අක්ෂර මාලාවේ **ක** යන්නේ සිට නිග්ගහීතය අන්ත කොට ඇති 33 ක් අක්ෂර **ව්‍යඤ්ජන** නම් වේ. ව්‍යඤ්ජනාක්ෂරයක් උච්චාරණයට ගතවන කාලය අර්ධ මාත්‍රාවකි.

| | | | | |
|---|---|---|---|---|
| ක | ඛ | ග | ඝ | ඞ |
| ච | ඡ | ජ | ඣ | ඤ |
| ට | ඨ | ඩ | ඪ | ණ |
| ත | ථ | ද | ධ | න |
| ප | ඵ | බ | භ | ම |
| ය | ර | ල | ව | |
| ස | හ | ළ | | |
| (අ)ං | | | | |

යනු එම ව්‍යඤ්ජනාක්ෂර 33 වේ.

## ව්‍යඤ්ජන ප්‍රභේද

පාලි ව්‍යාකරණ ග්‍රන්ථවල විවිධ ව්‍යඤ්ජන ප්‍රභේද දක්නට ලැබේ. මෙහි දී ව්‍යඤ්ජන ප්‍රභේද කිහිපයක් පමණක් ඉගෙන ගනිමු.

**වර්ගාක්ෂර**
**වර්ගාන්තාක්ෂර**
**අවර්ගාක්ෂර**
**නිග්ගහීතය**

## වර්ගාක්ෂර

ව්‍යඤ්ජන අක්ෂර අතර 'ක' යන්නේ සිට 'ම' යන්න දක්වා ඇති අකුරු විසිපහ **වර්ගාක්ෂර** නමින් හැඳින්වේ. එක් වර්ගයකට අක්ෂර පහ බැගින් අයත් වේ. එබඳු වර්ග පහකි. එම වර්ග එකී වර්ගයේ පළමු අකුරෙන් හැඳින්වේ.

| | | | | | |
|---|---|---|---|---|---|
| **ක වර්ගය** | ක | ඛ | ග | ඝ | ඞ |
| **ච වර්ගය** | ච | ඡ | ජ | ඣ | ඤ |
| **ට වර්ගය** | ට | ඨ | ඩ | ඪ | ණ |
| **ත වර්ගය** | ත | ථ | ද | ධ | න |
| **ප වර්ගය** | ප | ඵ | බ | භ | ම |

**වග්ගා පඤ්චපඤ්චසො මන්තා.**
**බ්‍යඤ්ජනානං කාදයො මකාරන්තා පඤ්චපඤ්චසො**
**අක්ඛරවන්තො වග්ගා.**
(බාලාවතාර)

**වර්ගාන්තාක්‍ෂර**

වර්ගයන්ගේ අන්තයේ ඇති අකුරු **වර්ගාන්තාක්‍ෂරයි.** ඒවා නාසික්‍ය, අනුනාසික්‍ය, නාසිකාක්‍ෂර, අනුනාසිකාක්‍ෂර යන නම්වලින් ද හැඳින්වේ.

**ඞ ඤ ණ න ම** යනු ඒ වර්ගාන්තාක්‍ෂරයි.

**අවර්ගාක්‍ෂර**

ව්‍යඤ්ජන අක්‍ෂර අතර වර්ගාක්‍ෂරවලට ඇතුළත් නොවන සෙසු අකුරු **අවර්ගාක්‍ෂර** නමින් හැඳින්වේ. **ය ර ල ව** යන අන්තස්ථාක්‍ෂරත් **ස හ ළ** යන ඌෂ්මාක්‍ෂරත් **අවර්ගාක්‍ෂර** යන නමින් හැඳින්වේ.

**නිග්ගහීතය**

''අං **ඉති නිග්ගහීතං**'' 'අං' යන මෙහි අකාරයෙන් පරව පිහිටි බින්දුව **නිග්ගහීතය** නම් වේ. නිග්ගහීතය තනිව ශබ්ද කළ නොහැකි නිසා ස්වරයක් ළං කොට ලියනු ලැබෙයි. නිග්ගහීතය වචනවල මැද හා අන්තවල යෙදෙන අතර නිග්ගහීතයකින් වචන ආරම්භ නොවේ. වචනවල මැද යෙදෙන නිග්ගහීතයට වර්ගාන්තාක්‍ෂර ආදේශවීම සිදු වේ.

නිග්ගහීතය නපුංසක ලිංග ශබ්දවල පඨමා, දුතියා ඒකවචන පදවලත් පුරුෂ ලිංග හා නපුංසක ලිංග ශබ්දවල දුතියා ඒකවචන පදවලත් බහුලව දක්නා ලැබේ. පහත වචන දෙස බලන්න.

**පුප්ඵං** **පුරිසං**
**නයනං** **දෙවං**
**ඵලං** **අජං**
**චක්ඛුං** **ගජං**
**පුඤ්ඤං** **මුනිං**

**අභ්‍යාස**

**1. පහත දැක්වෙන ප්‍රශ්නවලට කෙටි පිළිතුරු ලියන්න.**

i. ව්‍යඤ්ජනාක්ෂර ගණනින් කෙතෙක් ද?
ii. වර්ගාක්ෂර දැක්වෙන බාලාවතාරයේ පාඨය ලියා දක්වන්න.
iii. ඔබ දන්නා වෙනත් ව්‍යඤ්ජන ප්‍රභේද දෙකක් ලියන්න.
iv. වර්ගාන්තාක්ෂර ලියා දක්වන්න.
v. ව්‍යඤ්ජනාක්ෂර එනමින් හැඳින්වීමට හේතු දෙකක් ලියන්න.

**2. වර්ගාක්ෂර වගුගත කොට දක්වන්න.**

**3. වර්ගාන්තාක්ෂර යෙදුණු වචන පහ බැගින් ලියා වගුව සම්පූර්ණ කරන්න.**

| ඞ | ඤ | ණ | න | ම |
|---|---|---|---|---|
| සඞ්කප්ප | සඤ්චාරිකං | දණ්ඩං | දන්තානි | භුම්මා |
| | | | | |
| | | | | |
| | | | | |
| | | | | |
| | | | | |

4. පහත දැක්වෙන අක්ෂරවල අක්ෂර ප්‍රභේදය හෝ ප්‍රභේද ලියා දක්වන්න.

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| i. | අ | ii. | ඌ | iii. | ප | | |
| iv. | ණ | v. | ස | vi. | ඞ | | |
| vii. | ල | viii. | ඔ | ix. | ඵ | x. | ඣ |

5. ඡේදයේ දැක්වෙන නිග්ගහීතය යෙදුණු වචන දහයක් ලියා එම වචනවල තේරුම ලියන්න.

6. පහත දැක්වෙන වාක්‍ය කොටස් සිංහලට නගන්න.

| | | | |
|---|---|---|---|
| i. | බුද්ධස්ස ධම්මො | ii. | භූපාලානං දීපා |
| iii. | ආකාසෙ සුරියො | iv. | රුක්ඛෙසු වානරා |
| v. | වානරානං හත්ථෙහි | vi. | ලොකම්හි රුක්ඛා |
| vii. | බාලස්ස සුනඛො | viii. | ආකාසම්හි චන්දො |
| ix. | භූපාලස්ස අස්සො | x. | රුක්ඛම්හි සාඛා |

7. පහත දැක්වෙන වාක්‍ය කොටස් පාලියට නගන්න.

i. ගමෙ ළමයි
ii. ලෝකයේ දිවයින්
iii. හිරුගේ එළියෙන්
iv. ගොනාගේ පාවලින්
v. සිංහයාගේ ශරීරය
vi. ගසෙහි පක්ෂීහු
vii. අශ්වයන්ගේ පාද
viii. පුරුෂයාගේ ගොන්නු
ix. බුදුන්ගේ ධර්මයෙහි
x. මාර්ගයේ අශ්වයෝ

"අප්පමත්තො හි ඣායන්තො, පප්පොති විපුලං සුඛං"

ධ්‍යාන වඩන නොපමා වූ තැනැත්තා මහත් වූ නිවන් සැපයට පැමිණෙයි.

(ධම්මපදපාළි, අප්පමාදවග්ග, 9 ගාථාව)

# තතියො පාඨො

## වානරො



වානරො වනෙ වසති. වානරා ඵලානි ඛාදන්ති. දාරකො වානරං පහරති. මනුස්සා වානරෙ පොසෙන්ති. වානරෙන ඵලං ඛාදීයතෙ. වානරෙහි භින්නසාඛායො භූමියං පතන්ති. දාරකො වානරස්ස ඵලං දදාති. මනුස්සා වානරානං ජලං දෙන්ති. දාරකො වානරම්හා ඵලං ගණ්හාති. ව්‍යාධො වානරෙහි න භායති. වානරස්ස නඞ්ගුට්ඨං දීඝං භවති. වානරානං සරීරෙසු ලොමානි සන්ති. අහං වානරෙ දයං කරොමි. කෙචි ගුණා වානරෙසු සන්ති.

(පාලි රචනා 2)

**පදමාලාව**

| | | | | | |
|---|---|---|---|---|---|
| **වානරො** | - | වඳුරා | **වනෙ** | - | වනයෙහි |
| **වසති** | - | වාසය කරයි | **ඵලානි** | - | ගෙඩි |
| **ඛාදන්ති** | - | කති | **දාරකො** | - | දරුවා |
| **පහරති** | - | පහර දෙයි | **මනුස්සා** | - | මිනිස්සු |
| **පොසෙන්ති** | - | පෝෂණය කරති | **ඛාදීයතෙ** | - | කනු ලැබෙයි |
| **භින්නසාඛායො** | - | බිඳුණු අතු | **පතන්ති** | - | වැටෙති |
| **දදාති** | - | දෙයි | **දෙන්ති** | - | දෙති |
| **ගණ්හාති** | - | ගනියි | **ව්‍යාධො** | - | වැද්දා |
| **භායති** | - | භයවෙයි | **නඞ්ගුට්ඨං** | - | වලිගය /නගුට |

| | | | | | |
|---|---|---|---|---|---|
| **භවති** | - | වෙයි | **සරීරෙසු** | - | ශරීරවල |
| **ලොමානි** | - | ලොම් | **සන්ති** | - | වෙති |
| **දයං** | - | දයාව | **කරොමි** | - | කරමි |
| **කෙචි** | - | කිසියම් | **වානරෙසු** | - | වඳුරන් කෙරෙහි |

## අභ්‍යාස

1. පහත දැක්වෙන ප්‍රශ්නවලට පාලි භාෂාවෙන් පිළිතුරු සපයන්න.

| | | | | | |
|---|---|---|---|---|---|
| **කුහිං** | - | කොහි | **කානි** | - | මොනවා |
| **කො** | - | කවරෙක් | **කෙ** | - | කවරහු |

උදා:- **කෙ ඵලානි ඛාදන්ති? වානරා ඵලානි ඛාදන්ති.**

i. වානරො කුහිං වසති ?
ii. වානරා කානි ඛාදන්ති ?
iii. කො වානරං පහරති ?
iv. කෙ වානරෙ පොසෙන්ති ?
v. කො වානරානං ජලං දදාති ?

2. පහත සඳහන් වාක්‍යයන්හි හිස්තැන් පුරවන්න.

i. .................................... වනෙ වසති.
ii. අහං .......................... පස්සාමි.
iii. මයං ඵලානි ....................
iv. ...................... වානරං පහරති.
v. වානරානං සරීරෙසු .................. සන්ති.

## පද

තනි අකුරක් හෝ අකුරු සමූහයකින් යුක්ත අර්ථවත් වචන 'පද' නමින් හැඳින්වේ. පද සමූහයක් එකතුවීමෙන් වාක්‍යයක් නිර්මාණය වේ. **(පදසමූහො වාක්‍යං)** වාක්‍යයක් යනු එක් ආඛ්‍යාතයක් ඇති කාරක සහිත පද සමූහයකි. පාලි භාෂාවේ පද වර්ග හතරකි.

ඒවා නම්,

1. **නාම පද** - බුදෙධා, ලොකො, රාජා, ඵලං, යාචකෙන, වනිතාහි
2. **ක්‍රියා පද** - සයති, ධාවති, පූජෙති, අපචි, ගච්ඡිස්සති
3. **නිපාත පද** - ඉධ, අථ, ච, යථා, එවං
4. **උපසර්ග පද** - ප-පබොධති, ආ-ආහරති, අධි-අධිවසති, අනු-අනුගච්ඡති

''**වානරො වනෙ වසති**'' මෙම වාක්‍යයේ පද තුනක් දක්නට ලැබේ. වාක්‍යයක් පදවලින් නිර්මාණය වන බව මෙයින් පැහැදිලි වේ.

## නාමපද

පුද්ගලයෙක්, සත්වයෙක්, ස්ථානයක්, ද්‍රව්‍යයක් හෝ සංකල්පයක් සඳහා ව්‍යාවහාර කෙරෙන ශබ්ද '**නාම**' ලෙස හැඳින්වේ. ඒ ඒ අර්ථයන්ට අනුව නැමෙන හෙයින් ද ඒවා '**නාම**' නම් වේ. '**නාම**' යනු ශබ්ද ප්‍රකෘතියයි. ශබ්දයන්ගේ මූල අවස්ථාවයි. ශබ්ද ප්‍රකෘතියේ විභක්ති ප්‍රත්‍යය ආදිය දකින්නට නැත. එසේ වුව ද එම නාම අර්ථ සහිත ය.

නාමයකට විභක්ති ප්‍රත්‍යයක් එක් වීමෙන් නාමපද සැදේ. සචේතනික හා අචේතනික වශයෙන් දෙයාකාර වන නාමපදවල ඒකවචන හා බහුවචන වශයෙන් වචනභේදයක් දැකිය හැකි ය.

| පුලිංග | | | ස්ත්‍රීලිංග | | | නපුංසකලිංග | | |
|---|---|---|---|---|---|---|---|---|
| | **ඒකවචන** | **බහුවචන** | | **ඒකවචන** | **බහුවචන** | | **ඒකවචන** | **බහුවචන** |
| 1. | බුදෙධා | බුද්ධා | 4. | කඤ්ඤා | කඤ්ඤායො | 7. | ඵලං | ඵලානි |
| 2. | සුනඛො | සුනඛා | 5. | රත්ති | රත්තියො | 8. | චිත්තං | චිත්තානි |
| 3. | මිගො | මිගා | 6. | නදී | නදියො | 9. | නයනං | නයනානි |

නාමපද මොග්ගල්ලායන ව්‍යාකරණ සම්ප්‍රදායේ '**ස්‍යාද්‍යන්ත**' නමින් හැඳින්වේ. එම නාමය දී ඇත්තේ එකී නාම **සි, යො, අං, යො,** ආදී නාම විභක්ති ප්‍රත්‍යයන්ගෙන් අන්ත වන බැවිනි.

ශබ්ද ප්‍රකෘතිය අගට විභක්ති ප්‍රත්‍යයක් එකතුවීමෙන් නාමපදයක් සකස් වන ආකාරය තේරුම් ගැනීමට පහත නිදසුන බලන්න.

| | |
|---|---|
| බුද්ධ | නාමය |
| බුද්ධ+සි | විභක්ති ප්‍රත්‍යය (පඨමා විභක්ති ඒකවචන ප්‍රත්‍යය) |
| බුද්ධ+ඔ | ඔ ආදේශය |
| බුද්ධ්+අ ඔ | පූර්ව ස්වරය ලොප්වීම |
| බුද්ධො | ව්‍යඤ්ජනය ස්වරයට පැමිණවීම |
| බුද්ධො | නාමපදය |

පහත දැක්වෙන වගුව අධ්‍යයනය කරන්න.

| ශබ්ද ප්‍රකෘතිය | විභක්ති ප්‍රත්‍යය | නාමපදය |
|---|---|---|
| දෙව | දෙව+සි (ඔ) | දෙවො |
| අත්ත | අත්ත+යො | අත්තානො |
| අග්ගි | අග්ගි+සු | අග්ගිසු |
| දණ්ඩී | දණ්ඩී+යො | දණ්ඩී |
| භික්ඛු | භික්ඛු+ස්මා | භික්ඛුස්මා |
| චිත්ත | චිත්ත+හි | චිත්තෙහි |
| කඤ්ඤා | කඤ්ඤා+යො | කඤ්ඤායො |
| රාජ | රාජ+හි | රාජූහි |
| බුද්ධ | බුද්ධ+නං | බුද්ධානං |

## නාම ප්‍රභේද

1. නාමනාම
2. සබ්බනාම
3. සමාසනාම
4. තද්ධිතනාම
5. කිතකනාම

යනුවෙන් නාම ප්‍රභේද පහක් දක්නට ලැබේ.

## නාමනාම

'නාමනාම' යනු කේවල නාමයි. මේ නාමයන් කොටස් හතරකට බෙදේ.

1. ජාතිනාම - නර, සීහ, මිග, දෙව, කඤ්ඤා, යුවති, ආචරිය
2. ද්‍රව්‍යනාම - පීඨ, ලෙඛනී, වෙත්ත, ඵල, සාඛා, පොත්ථක
3. ගුණනාම - දයා, මෙත්තා, කරුණා, පඤ්ඤා, ගුණවන්තු
4. සංඥානාම - නාරද, බිම්බිසාර, ආනන්ද, ධම්මපාල, සීලරතන

**සබ්බනාම**

'සර්වනාම' යන්නෙහි අදහස සෑම නාමයකට ම පොදුවේ යෙදිය හැකි නාම යන්නයි. එසේ ම සර්වනාම පුරුෂ ලිංග, ස්ත්‍රී ලිංග, නපුංසක ලිංග යන ලිංගත්‍රයේ ම යෙදිය හැකි ය. සබ්බ, කතර, උභය, ඉතර, තුම්හ, අම්හ, ත ආදිය සර්වනාමයි. සර්වනාම පද කිහිපයක් පහත දැක්වේ.

සො, තෙ, සබ්බෙ, අඤ්ඤතරො, ඉතරං, තස්ස, එතානි, අහං, මයං, ත්වං

**සමාස නාම**

පද දෙකක් හෝ කිහිපයක් තනි පදයක් බවට පත්කිරීම 'සමාස' නම් වේ. එසේ සමාසවීමෙන් සෑදෙන පද 'සමාසනාම' නම් වේ.

නීලුප්පලං, අන්ධබධිරො, සාරිපුත්තත්ථෙරො
තිලොකං, චතුද්දිසං, පඤ්චසීලානි
ගාමගතො, චොරභයං, සීලසම්පන්නො
ඛීණාසවො, තථාගතො, ලම්බකණ්ණො
චන්දසූරියා, නරනාරියො, හත්ථපාදං
උපනගරං, දුබ්භික්ඛං

**තද්ධිත නාම**

නාමයකට පරව ප්‍රත්‍යයක් එක්වීමෙන් සෑදෙන නාම 'තද්ධිතනාම' නම් වේ.

වාසුදෙවො කච්චායනො

භාගිණෙයො සාක්‍යපුත්තිකො
පාපතමො වාසෙට්ඨො

**කිතක නාම**

ධාතුවකට පරව ප්‍රත්‍යයක් එක්වීමෙන් සෑදෙන නාම 'කිතක නාම' නම් වේ.

කුම්භකාරො පාලකො
ගච්ඡමානො තිට්ඨනෙතා
නායකො දායකො

**අභ්‍යාස**

1. පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. 'පද' යනු මොනවා ද ?
ii. පාලි භාෂාවේ පද වර්ග කීය ද ? ඒවා නම් කරන්න.
iii. 'ශබ්ද ප්‍රකෘතිය' යනු කුමක් ද?
iv. නාමපද යනු කවරේ ද?
v. නාමපද 'ස්‍යාද්‍යන්ත' නමින් හැඳින්වෙන්නේ ඇයි ?
vi. නාමපදයක් සකස් කරගන්නේ කෙසේ ද?
vii. නාමපද ප්‍රභේද වශයෙන් කීය ද? ඒවා නම් කරන්න.
viii. 'වානරො' යන ඡේදයේ ඇති නාමපද දහයක් සොයා ලියන්න.
ix. ඒකවචන නාමපද දහයක් ලියා ඒවා බහුවචනයට හරවන්න.
x. 'නාමනාම' සහ 'සර්වනාම' පද සොයා ලියන්න.

2. පහත සඳහන් පාලි වාක්‍ය සිංහලට නගන්න.

i. බුද්ධො ධම්මං දෙසෙති.
ii. මිගො ධාවති.
iii. කස්සකා කසන්ති.
iv. ලෙඛකො ලිඛති.

v. සුනඛා භුඤ්ජන්ති.
vi. අස්සා ධාවන්ති.
vii. වාණිජෝ නිසීදති.
viii. ගොපාලො රක්ඛති.
ix. වානරො රුක්ඛං ආරුහති.
x. බාලකා අඞ්ගණෙ කීළන්ති.

3. පහත සඳහන් වාක්‍යය පාලියට නගන්න.

i. වඳුරෝ නගිති.
ii. එළුවෝ දුවති.
iii. මුවා සිටියි.
iv. දාසයා ගෙනයයි.
v. ගොවියා සීසායි.
vi. ලියන්නා පහනක් ගෙනයයි.
vii. අම්මා බත් උයයි.
viii. ළමයා ක්‍රීඩා කරයි.
ix. පියා කුඹුරට යයි .
x. මම පිරිවෙණට යමි.

චිත්තස්ස දමථො සාධු, චිත්තං දන්තං සුඛාවහං

සිත දමනය කිරීම මැනවි. හික්මවන ලද සිත සැප ගෙන දෙන්නේ ය.

(ධම්මපදපාළි, චිත්තවග්ග, 3 ගාථාව)

# චතුත්ථො පාඨො

## භික්ඛු



සංසාරභයං ඉක්ඛතීති භික්ඛු. උදාහු භික්ඛතීති වා භික්ඛු. තථාගතසාවකස්ස එතං අධිවචනං. තෙ ඡින්නභින්නපටධරා මුණ්ඩකා සුපටිපන්නා ච භවන්ති. යෙ අගාරස්මා නික්ඛම්ම අනගාරියං පබ්බජිතා සංසාරදුක්ඛස්ස අන්තං පරියෙසමානා විචරන්ති, තෙ එව භික්ඛු හොන්ති. අනරියා සාසනෙ පබ්බජිතා භික්ඛාය ජීවිකං කප්පෙන්තා සමණපතිරූපකා ඉදානි ලොකෙ වසන්ති. තථා'පි තෙ භික්ඛූ'ති න මඤ්ඤන්ති. භික්ඛු පන ගිහීඕදාතවසනා විය න නිවාසනපාරුපනං කරොන්ති. තෙ කාසායානි වත්ථානි පරිදහන්ති. කෙසමස්සුං ඔහරන්ති. විකාලෙ න භුඤ්ජන්ති. බ්‍රහ්මචාරී'ව පණ්ණසාලනිවාසිනො ච භවන්ති. තෙ න ගිහීසංසට්ඨා.

(පාලි රචනා 2)

**පදමාලාව**

| | | |
|---|---|---|
| **සංසාරභයං** | - | සසර බිය |
| **ඉක්ඛති** | - | දකියි |
| **උදාහු** | - | නොහොත් |
| **භික්ඛති** | - | පිඬු සිඟයි |
| **එතං අධිවචනං** | - | මේ තවත් වචනයකි |
| **ඡින්නභින්නපටධරා** | - | සුන් බුන් වස්ත්‍ර දරන්නෝ |
| **මුණ්ඩකා** | - | හිසමුඩු කළාහු |
| **සුපටිපන්නා** | - | මනාව පිළිපන්නාහු |

| | | |
|---|---|---|
| අගාරස්මා | - | ගිහිගෙයින් |
| නික්ඛම්ම | - | නික්ම |
| අනගාරියං | - | අනගාරික වූ ශාසනයෙහි |
| පබ්බජිතා | - | පැවිදි වූවාහු |
| සංසාරදුක්ඛස්ස | - | සසර දුකේ |
| අන්තං | - | අවසානය |
| පරියෙසමානා | - | සොයන්නාහු |
| අනරියා | - | අනාර්යයෝ |
| ජීවිකං කප්පෙන්ති | - | ජීවිකාව කරන්නාහු |
| සමණපතිරූපකා | - | ශ්‍රමණ වේශධාරීහු |
| මඤ්ඤන්ති | - | සිතාගනිති |
| ගිහීඔදාතවසනා | - | ගිහි සුදු වස්ත්‍ර අඳින්නාහු |
| විය | - | මෙන් |
| නිවාසනපාරුපනං | - | වස්ත්‍ර පෙරවීම |
| කාසායානි වත්ථානි | - | කසාවත් |
| පරිදහන්ති | - | පෙරවති |
| කෙසමස්සු | - | කෙස් රැවුල් |
| ඔහරන්ති | - | ඉවත් කරති |
| විකාලෙ | - | නොකල්හි |
| පණ්ණසාලනිවාසිනො | - | පන්සලෙහි වසන්නෝ |
| ගිහීසංසට්ඨා | - | ගිහියන් හා ආශ්‍රය කරන්නෝ |

## අභ්‍යාස

කො - කවරෙක් ද  කිං - කුමක් ද  කෙ - කවරහු ද

1. පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

උදා:- සමණපතිරූපකා කුහිං වසන්ති? සමණපතිරූපකා ලොකෙ වසන්ති.

i. කො සංසාරභයං ඉක්ඛති ?
ii. කිං තථාගතසාවකස්ස අධිවචනං ?
iii. කෙ භික්ඛාය ජීවිකං කප්පෙන්ති ?
iv. කෙ විකාලෙ න භුඤ්ජන්ති ?
v. කෙ න ගිහීසංසට්ඨා ?

2. පහත සඳහන් වාක්‍ය සම්පූර්ණ කරන්න.

i. සංසාරභයං ................. භික්ඛු.
ii. භික්ඛු පන ..............................න නිවාසනපාරුපනං කරොන්ති.
iii. තෙ ........................ න භුඤ්ජන්ති.
iv. ...................... පණ්ණසාලනිවාසිනො ච භවන්ති.
v. ............................ න ගිහීසංසට්ඨා.

## නාම වරනැඟීම

විවිධාර්ථවත් ශබ්දයන් ඒකවචන බහුවචනවලට ද, පුල්ලිඞ්ග, ඉත්ථිලිඞ්ග, නපුංසකලිඞ්ගවලට ද, පඨමා, දුතියා ආදී විභක්තිවලට ද සුදුසු ලෙස යොදා පෙන්වීම 'නාම වරනැඟීම' නම් වේ.

**ශබ්දාන්ත වශයෙන් නාම වෙනස් වන ආකාරය හඳුනාගනිමු.**

භාෂාවක ඇති සියලු ශබ්ද 'ස්වරාන්ත' සහ 'හලන්ත' වශයෙන් කොටස් දෙකකට බෙදේ. එසේ වුවත් පාලි භාෂාවේ ඇත්තේ 'ස්වරාන්ත ශබ්ද' පමණකි. ශබ්දයක් කුමන අන්තයකට අයත් දැයි හඳුනාගන්නේ ශබ්දයේ අග ඇති ස්වරයෙනි. ශබ්දයේ අග අ **කාරාන්ත, ආ කාරාන්ත, ඉ කාරාන්ත, ඊ කාරාන්ත, උ කාරාන්ත, ඌ කාරාන්ත, ඔ කාරාන්ත** වශයෙන් අන්තඃස්වර ඇති හෙයින් එම ශබ්ද 'ස්වරාන්ත ශබ්ද' නමින් හැඳින්වේ. පාලි භාෂාවේ ඒ කාරාන්ත ශබ්ද දකින්නට නැත. ස්වරාන්ත ශබ්ද කිහිපයක් පහත දැක්වේ.

අ කාරාන්ත - **දෙව, අත්ත, රාජ, චිත්ත, මන, ඵල**
ආ කාරාන්ත - **කඤ්ඤා, සද්ධා, මෙධා, සා**
ඉ කාරාන්ත - **අග්ගි, ආදි, රත්ති, අට්ඨි, මුනි, ඉත්ථි**
ඊ කාරාන්ත - **දණ්ඩී, නදී**
උ කාරාන්ත - **භික්ඛු, ජන්තු, සත්ථු, නත්තු, පිතු, යාගු, ගුරු, මාතු**
ඌ කාරාන්ත - **අභිභූ, සබ්බඤ්ඤූ**
ඔ කාරාන්ත - **ගො**

## නාම විභක්ති ප්‍රත්‍යය

ශබ්දප්‍රකෘතියට පසුව යෙදී ඒකවචන බහුවචන භේදයත් පඨමා, දුතියා ආදි විභක්ති භේදයත් ප්‍රකාශ කරනුයේ නාමවිභක්ති ප්‍රත්‍යය මගිනි. ශබ්දප්‍රකෘතිය පඨමා, ආලපන, දුතියා ආදි වශයෙන් සහ ඒකවචන බහුවචන වශයෙන් බෙදන නිසා එවා **'විභක්ති'** නමින් හැඳින්වේ. පාලි භාෂාවේ නාම විභක්ති නවයක් සහ ප්‍රත්‍යය 14 ක් දක්නට ලැබේ. ඒවා මෙසේ ය.

| විභත්ති | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | සි | යො |
| දුතියා | අං | යො |
| තතියා | නා | හි |
| චතුත්ථි | ස | නං |
| පඤ්චමී | ස්මා | හි |
| ඡට්ඨී | ස | නං |
| සත්තමී | ස්මිං | සු |

මෙම වගුවේ ආලපන සහ කරණ විභක්තිය සඳහන් නොවන්නේ ආලපන විභක්තිය පඨමා විභක්තියේ ප්‍රත්‍යයක් හා කරණ විභක්තිය තතියා විභක්තියේ ප්‍රත්‍යයක් වශයෙන් යෙදෙන හෙයිනි.

## වචන භේදය

නාමපද ඒකවචන හා බහුවචන වශයෙන් දෙයාකාර වේ. එක් අයෙක් හෝ දෙයක් ගැන කියවෙන විට ඒකවචන ලෙසත් ඊට වඩා වැඩි පිරිසක් ගැන කියවෙන විට බහුවචන ලෙසත් භාවිත වේ.

| ඒකවචන | බහුවචන |
|---|---|
| දෙවො | දෙවා |
| කඤ්ඤා | කඤ්ඤායො |
| භික්ඛු | භික්ඛවො |
| මුනි | මුනයො |
| භානු | භානවො |

පාලි භාෂාව නිවැරැදි ව තේරුම් ගැනීමට නම් ඒ ඒ විභක්ත්‍යාර්ථ පිළිබඳ දැනුවත් විය යුතු ය. ඒ සඳහා පුරුෂ ලිංගයට (පුල්ලිංග) අයත් වන පහත දැක්වෙන අකාරාන්ත **දෙව**, ඉකාරාන්ත **අග්ගි**, උකාරාන්ත **භික්ඛු** ශබ්ද අර්ථ සහිත ව හදාරමු.

**අකාරාන්ත පුලලිංග 'දෙව' ශබ්දය**

| විභත්ති | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | දෙවො | දෙවා |
| ආලපන | (හෙ)දෙව, දෙවා | (භවන්තො) දෙවා |
| දුතියා | දෙවං | දෙවෙ |
| තතියා | දෙවෙන | දෙවෙභි, දෙවෙහි |
| කරණ | දෙවෙන | දෙවෙභි, දෙවෙහි |
| චතුත්ථී | දෙවාය, දෙවස්ස | දෙවානං |
| පඤ්චමී | දෙවා, දෙවම්හා, දෙවස්මා | දෙවෙභි, දෙවෙහි |
| ඡට්ඨී | දෙවස්ස | දෙවානං |
| සත්තමී | දෙවෙ, දෙවම්හි, දෙවස්මිං | දෙවෙසු |

**කටපාඩම් කිරීමට**

එවං සුරාසුරනරොරගනාගයක්ඛා
ගන්ධබ්බකින්නරමනුස්සපිසාචපෙතා
මාතඞ්ගජඞ්ගමතුරඞ්ගවරාහසීහා
ව්‍යග්ඝච්ඡකච්ඡපතරච්ඡමිගස්සසොණා

ආලොකලොකනිලයානිලචාගයොග
වායාමගාමනිගමාගමධම්මකාමා
සඞ්ඝොඝඝොසපටිඝාසවකොධලොභ
සාරම්භථම්භමදමානපමාදමක්ඛා

පුන්නාගපූගපනසාසනචම්පකම්බ
හින්තාලතාලවකුලජ්ජුනකිංසුකා ච
මන්දාරකුන්දපුචිමන්දකරඤ්ජරුක්ඛා
මෙඤ්දයයා මයූරසකුණණ්ඩජකොඤ්චහංසා

දෙව ශබ්දයට සමානව වරනැගෙන නාම කිහිපයක්

| | | | | | |
|---|---|---|---|---|---|
| **සුර** | - දෙවියා | **අසුර** | - අසුරයා | **නර** | - මිනිසා |
| **උරග** | - උරගයා | **නාග** | - නාගයා | **යක්ඛ** | - යක්ෂයා |
| **ගන්ධබ්බ** | - ගාන්ධර්වයා | **කින්නර** | - කිඳුරා | **මනුස්ස** | - මිනිසා |
| **පිසාච** | - පිසාචයා | **පෙත** | - ප්‍රේතයා | **මාතඞ්ග** | - ඇතා |
| **තුරඞ්ග** | - අශ්වයා | **වරාහ** | - ඌරා | **සීහ** | - සිංහයා |
| **ව්‍යග්ඝ** | - ව්‍යාඝ්‍රයා | **අච්ඡ** | - වලසා | **කච්ඡප** | - කැස්බෑවා |
| **තරච්ඡ** | - කළු වලහා | **මිග** | - මුවා | **අස්ස** | - අශ්වයා |

අකාරාන්ත පුල්ලිංග 'දෙව' ශබ්දයේ අර්ථය

| විභක්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| **පඨමා** | දෙවියා | දෙවියෝ |
| **ආලපන** | පින්වත් දෙවිය | පින්වත් දෙවියනි |
| **දුතියා** | දෙවියා | දෙවියන් |
| **තතියා** | දෙවියා විසින් | දෙවියන් විසින් |
| **කරණ** | දෙවියා කරණකොට ගෙන | දෙවියන් කරණකොට ගෙන |
| **චතුත්ථී** | දෙවියාට | දෙවියන්ට |
| **පඤ්චමී** | දෙවියා කෙරෙන් | දෙවියන් කෙරෙන් |
| **ඡට්ඨී** | දෙවියාගේ | දෙවියන්ගේ |
| **සත්තමී** | දෙවියා කෙරෙහි | දෙවියන් කෙරෙහි |

## ඉකාරාන්ත පුලලිංග 'අග්ගි' ශබ්දය

| විභත්ති | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | අග්ගි | අග්ගී, අග්ගයො |
| ආලපන | (හෙ) අග්ගි | (භවන්තො) අග්ගී, අග්ගයො |
| දුතියා | අග්ගිං | අග්ගී, අග්ගයො |
| තතියා | අග්ගිනා | අග්ගීහි, අග්ගීභි |
| කරණ | අග්ගිනා | අග්ගීහි, අග්ගීභි |
| චතුත්ථී | අග්ගිනො, අග්ගිස්ස | අග්ගීනං |
| පඤ්චමී | අග්ගිනා, අග්ගිම්හා, අග්ගිස්මා | අග්ගීහි, අග්ගීභි |
| ඡට්ඨී | අග්ගිනො, අග්ගිස්ස | අග්ගීනං |
| සත්තමී | අග්ගිම්හි, අග්ගිස්මිං | අග්ගිසු, අග්ගීසු |

### කටපාඩම් කිරීමට

ජොති පාණි ගණ්ඨි මුට්ඨි
කුච්ඡි වත්ථි සාලි වීහි
ව්‍යාධි ඔධි බොධි සන්ධි
රාසි කෙසි සාති දීපි

ඉසි මුනි මණි ධනි ගිරි රවි කවි කපි
අසි මසි නිධි විධි අහි කිමි පති හරි
අරි තිමි කලි බලි ජලනිධි ගහපති
උරුධිති වරමති නිරුපධි අධිපති

'අග්ගි' ශබ්දයට සමානව වරනැගෙන ශබ්ද කිහිපයක්

පාණි - අත
ගණ්ඨි - ගැටය
මුට්ඨි - මිට
කුච්ඡි - කුස
වීහි - වී
ව්‍යාධි - ව්‍යාධිය
බොධි - බෝ ගස
දීපි - දිවියා

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ඉසි | - ඉසිවරයා | මුනි | - මුනිවරයා | මණි | - මැණික |
| ගිරි | - පර්වතය | රවි | - සූර්යයා | කවි | - පණ්ඩිතයා |
| කපි | - වඳුරා | අසි | - කඩුව | නිධි | - නිධානය |
| අහි | - සර්පයා | කිමි | - පණුවා | පති | - ස්වාමියා |
| අරි | - සතුරා | ජලනිධි | - සාගරය | ගහපති | - ගෘහපතියා |

## උකාරාන්ත පුලලිංග 'භික්ඛු' ශබ්දය

| විභත්ති | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | භික්ඛු | භික්ඛූ, භික්ඛවො |
| ආලපන | (හෙ) භික්ඛු | (භවන්තො) භික්ඛූ, භික්ඛවෙ, භික්ඛවො |
| දුතියා | භික්ඛුං | භික්ඛූ, භික්ඛවො |
| තතියා | භික්ඛුනා | භික්ඛූභි, භික්ඛූහි |
| කරණ | භික්ඛුනා | භික්ඛූභි, භික්ඛූහි |
| චතුත්ථී | භික්ඛුනො, භික්ඛුස්ස | භික්ඛූනං |
| පඤ්චමී | භික්ඛුනා, භික්ඛුම්හා, භික්ඛුස්මා | භික්ඛූභි, භික්ඛූහි |
| ඡට්ඨී | භික්ඛුනො, භික්ඛුස්ස | භික්ඛූනං |
| සත්තමී | භික්ඛුම්හි, භික්ඛුස්මිං | භික්ඛූසු, භික්ඛුසු |

භික්ඛු ශබ්දයට සමානව වරනැගෙන ශබ්ද කිහිපයක්

| | | | | | |
|---|---|---|---|---|---|
| සෙතු | - | හේදණ්ඩ | කෙතු | - | කොඩිය |
| රාහු | - | රාහුය | භානු | - | හිරු |
| උච්ඡු | - | උක්ගස | වෙළු | - | උණගස |
| මච්චු | - | මරණය | මධු | - | මීපැණි |
| සින්ධු | - | සාගරය | බන්ධු | - | නෑයා |
| හෙතු | - | හේතුව | පටු | - | දක්ෂයා |

## උකාරාන්ත පුල්ලිංග 'භික්ඛු' ශබ්දයේ අර්ථය

| විභත්ති | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | භික්ෂුව | භික්ෂූහු |
| ආලපන | පින්වත් භික්ෂුව | පින්වත් භික්ෂූනි |
| දුතියා | භික්ෂුව | භික්ෂූන් |
| තතියා | භික්ෂුව විසින් | භික්ෂූන් විසින් |
| කරණ | භික්ෂුව කරණ කොට | භික්ෂූන් කරණ කොට |
| චතුත්ථී | භික්ෂුවට | භික්ෂූන්ට |
| පඤ්චමී | භික්ෂුව කෙරෙන් | භික්ෂූන් කෙරෙන් |
| ඡට්ඨී | භික්ෂුවගේ | භික්ෂූන්ගේ |
| සත්තමී | භික්ෂුව කෙරෙහි | භික්ෂූන් කෙරෙහි |

### කටපාඩම් කිරීමට

එවං සෙතු කෙතු භානු රාහු සබ්කු උච්ඡු වෙළු
මච්චු මධු සින්ධු බන්ධු නෙරු මෙරු සත්තු
කාරු හෙතු ජන්තු රුරු පටු

### අභ්‍යාස

1. 'භික්ඛු' පාලි පාඨය සිංහලට නඟන්න.
2. පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. නාම වරනැඟීම යනු කුමක්ද ?
ii. ස්වරාන්ත ශබ්ද පහක් නම් කරන්න.
iii. ස්වරාන්ත ශබ්දයක් හඳුනාගන්නේ කෙසේ ද?
iv. ස්වරාන්ත ශබ්ද වර්ග කර දක්වන්න.
v. නාම විභක්ති නවය ලියා දක්වන්න
vi. පාලි භාෂාවේ නාම විභක්ති සහ ප්‍රත්‍යය ලියන්න.
vii. ආලපන සහ කරණ විභක්ති සඳහා ප්‍රත්‍යය සඳහන් නොවන්නේ ඇයි?
viii. ඒකවචන නාමපද දහයක් ලියා ඒවා බහුවචනයට හරවන්න.
ix. පුරිස, කපි, සෙතු යන ශබ්ද සියලු විභක්තිවල වරනඟන්න.
x. කෙරෙන් හෝ ගෙන් යන අර්ථය ලැබෙන්නේ කවර විභක්තිය යෙදීමෙන්ද?

3. පහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

i. බුද්ධා ධම්මං දෙසති.
ii. සංඝො ගාමං ගච්ඡති.
iii. මනුස්සා සුරියං පස්සන්ති.
iv. වාණිජො ගාමෙ චරති.
v. ගොණා පාසාණෙ තිට්ඨන්ති.
vi. සකුණො රුක්ඛෙ නිසීදති.
vii. භූපාලා අස්සෙ ආරුහන්ති.
viii. අහං දීපං ආහරාමි.
ix. මයං ගොණෙ හරාම.
x. මයං ලොකෙ වසාම.

4. පහත සඳහන් වාක්‍ය පාලියට නගන්න.

i. සුමේධ පහන ගෙන යයි.
ii. ඔහු පාඩම සිතයි.
iii. රජ සිංහයකු බලයි.
iv. එළුවෝ ගමෙහි හැසිරෙති.
v. කුරුල්ලා අහසේ පියාඹයි.
vi. සඳ කන්දෙන් උදාවෙයි.
vii. දෙවියා අහසෙන් යයි.
viii. මම ලෝකයෙහි වසමි.
ix. මම හිරු දකිමි.
x. අපි දූපතක වසමු.

**පරිප්ලවපසාදස්ස, පඤ්ඤා න පරිපූරති**

**ඉපිලෙන සැදැහැ ඇත්තාට ප්‍රඥාව නො වැඩේ.**
**(ධම්මපදපාළි, චිත්තවග්ග, 6 ගාථාව)**

# පඤ්චමො පාඨො

## රමණී



රමණී රූපසම්පන්නා බාලිකා භවති. සා මධුරානි වචනානි භාසති. මාතුයා සද්ධිං විහාරං ගච්ඡති. බුද්ධං වන්දති. පුප්ඵං පූජෙති. තස්සා පිතා එකදා පොත්ථලිකං ආහරිත්වා අදාසි. රමණී පොත්ථලිකාය සද්ධිං කීළති. එකදා තස්සා පොත්ථලිකා භූමියං පති. තස්මිං ඛණෙ පොත්ථලිකා චුණ්ණවිචුණ්ණා භවි. සා අතී'ව සොකාභිභූතා රොදි. මාතා තං දිස්වා කිම'ත්ථාය රොදසීති පුච්ඡි. අත්තනො පොත්ථලිකා මතා'ති සා වදි. සබ්බෙ සත්තා මරිස්සන්ති, මා රොදසීති මාතා ඔවදි.

(පාලි රචනා 1)

**පදමාලාව**

| | | |
|---|---|---|
| **රූපසම්පන්නා** | - | රූපසම්පන්න |
| **සා** | - | ඕ තොමෝ |
| **මධුරානි** | - | මිහිරි |
| **වචනානි** | - | වචන |
| **භාසති** | - | කියයි |
| **මාතුයා සද්ධිං** | - | මව සමග |
| **තස්සා** | - | ඇයගේ |
| **එකදා** | - | එක් දවසක් |
| **පොත්ථලිකං** | - | බෝනික්කා |

| | | |
|---|---|---|
| **ආහරිත්වා** | - | ගෙනවිත් |
| **අදාසි** | - | දුන්නේය |
| **කීළති** | - | සෙල්ලම් කරයි |
| **භූමියං** | - | බිම |
| **පති** | - | වැටුණේය |
| **තස්මිං ඛණෙ** | - | එකෙණෙහි |
| **චුණ්ණවිචුණ්ණා** | - | සුණු විසුණු |
| **භවි** | - | විය |
| **අතීව** | - | ඉතාම |
| **සොකාභිභූතා** | - | ශෝකයෙන් පෙළුණී |
| **රොදි** | - | හැඬුවේ ය |
| **කිමත්ථාය** | - | කුමක් නිසා |
| **පුච්ඡි** | - | ඇසුවේය |
| **අත්තනො** | - | තමාගේ |
| **මතා'ති** | - | මළා යැයි |
| **වදි** | - | කීවේය/ කීවාය |
| **මරිස්සන්ති** | - | මැරෙන්නෝය |
| **මා රොදසීති** | - | නොහඬන්න යැයි |
| **ඔවදි** | - | අවවාද කළේය |

## අභ්‍යාස

**කා** - කවර තැනැත්තියක්

**කං** - කුමක්

**කාය සද්ධිං** - කවර තැනැත්තියක් සමග

**කස්මා** - කුමක් නිසා

**කථං** - කෙසේ

1. පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

උදා:- **කා බුද්ධං වන්දති. - රමණී බුද්ධං වන්දති.**

i. කා මධුරානි වචනානි භාසති ?
ii. පිතා රමණියා කං අදාසි ?
iii. රමණී කාය සද්ධිං විහාරං ගච්ඡති?
iv. රමණී කස්මා රොදි ?
v. තස්සා මාතා කථං ඔවදි?

2. පහත දැක්වෙන වාක්‍ය සම්පූර්ණ කරන්න.

i. ...................වන්‍දති,...............පූජෙති.
ii. ........................මධුරානි .................භාසති.
iii. .....................සත්තා මරිස්සන්ති.
iv. මාතා ........................... ඔවදි.
v. ......................පිතා පොත්ථිකං ........................ අදාසි.

## ලිඞ්ග භේදය

පාලි භාෂාවේ ඇති නාම ප්‍රධාන වශයෙන් **පුල්ලිඞ්ගනාම, ඉත්ථිලිඞ්ග නාම, නපුංසකලිඞ්ගනාම** යනුවෙන් ප්‍රභේද තුනකි. යම් නාමයක් කුමන ලිඞ්යකට අයත් දැයි හඳුනාගන්නේ ශබ්දාන්තයෙහි ස්වරූපය කෙබඳු දැයි පරීක්ෂා කොට බැලීමෙනි. ඒ අනුව යම් ශබ්දයක පුරුෂවාචී බවක් හැඟේ නම් එය 'පුල්ලිඞ්ග නාම' ලෙස ද, ස්ත්‍රීවාචී බවක් හැඟේ නම් එය 'ඉත්ථිලිඞ්ග නාම' ලෙස ද, පුරුෂවාචී සහ ස්ත්‍රීවාචී බවක් නොහැඟේ නම් එම සියලු නාම 'නපුංසකලිඞ්ග නාම' ලෙස ද හඳුනාගත හැකි ය. ලිඞ්ගත්‍රයට අයත් පහත දැක්වෙන ශබ්ද හදාරන්න.

### පුල්ලිඞ්ගනාම

| | | | | |
|---|---|---|---|---|
| පුරිස | භික්ඛු | ගො | රාජ | නර |
| වානර | ධම්ම | අත්ත | කවි | රුක්ඛ |
| අග්ගි | දෙව | | | |

### ඉත්ථිලිඞ්ගනාම

| | | | | |
|---|---|---|---|---|
| වනිතා | ලතා | මිගී | ධෙනු | මෙධා |
| බුද්ධි | වධු | වසුධා | යාගු | නදී |
| මායා | කඤ්ඤා | | | |

**නපුංසකලිඞගනාම**

| | | | | |
|---|---|---|---|---|
| චිත්ත | අට්ඨි | ඵල | රූප | ධන |
| පුඤ්ඤ | පාප | නයන | දාන | |

**අලිංගික නාම**

| | |
|---|---|
| අම්හ | තුම්හ |

**ඉත්ථිලිඞග ශබ්ද හඳුනාගැනීම**

මීට ඉහත පාඩම්වලදී අකාරාන්ත පුල්ලිංග 'දෙව', ඉකාරාන්ත 'අග්ගි', උකාරාන්ත 'භික්ඛු' ශබ්ද ඉගෙනගෙන ඇත්තෙමු. මෙම පාඩමෙන් ඉත්ථිලිංග ශබ්දයක් වරනගා අර්ථ ගන්වන අයුරු ඉගෙන ගනිමු.

**ඉත්ථිලිංග 'ඊ 'කාරාන්ත 'නදී ' ශබ්දය**

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | නදී | නදී, නදියො, නජ්ජො |
| ආලපන | (හෙ) නදී | (හෙ)නදී, නදියො, නජ්ජො |
| දුතියා | නදිං | නදී, නදියො, නජ්ජො |
| තතියා | නදියා, නජ්ජා | නදීහි, නදීභි |
| කරණ | නදියා, නජ්ජා | නදීහි, නදීභි |
| චතුත්ථී | නදියා, නජ්ජා | නදීනං |
| පඤ්චමී | නදියා, නජ්ජා | නදීහි, නදීභි |
| ඡට්ඨී | නදියා, නජ්ජා | නදීනං |
| සත්තමී | නදියා, නදියං, නජ්ජං | නදීසු |

ඉත්ථිලිංග 'ඊ 'කාරාන්ත 'නදී' (නදිය හෙවත් ගංගාව) ශබ්දයේ අර්ථය

| විභක්තිය | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | නදිය | නදීහු |
| ආලපන | එම්බා නදිය | එම්බා නදීහු |
| දුතියා | නදිය | නදීන් |
| තතියා | නදිය විසින් | නදීන් විසින් |
| කරණ | නදිය කරණකොට | නදීන් කරණකොට |
| චතුත්ථී | නදියට | නදීන්ට |
| පඤ්චමී | නදියෙන් | නදීන්ගෙන් |
| ඡට්ඨී | නදියේ | නදීන්ගේ |
| සත්තමී | නදියෙහි | නදීන්හි |

ඉත්ථිලිඞග 'ඊ 'කාරාන්ත නදී ශබ්දයට සමාන ව වරනැගෙන ශබ්ද කිහිපයක් පහත දැක්වේ.

| | | | | | |
|---|---|---|---|---|---|
| මහී | - | පොළොව | කුමාරී | - | කුමරිය |
| වාපී | - | වැව | තරුණී | - | තරුණිය |
| කදලී | - | කෙසෙල් | බ්‍රාහමණී | - | බැමිණිය |
| නාරී | - | ස්ත්‍රිය | සඛී | - | යහළු ස්ත්‍රිය |
| කුක්කුටී | - | කිකිළිය | වානරී | - | වැඳිරිය |
| මිගී | - | මුවදෙන | අජී | - | එළදෙන |

**කටපාඩම් කරන්න**

මහී වෙතරණී වාපී පාටලී කදලී ඝටී
නාරී කුමාරී තරුණී වාරුණී බ්‍රහමණී සඛී
ගන්ධබ්බී කින්නරී නාගී දෙවී යක්ඛී අජී මිගී
වානරී සූකරී සීහී හංසී කාකී ච කුක්කුටී

## නපුංසක ලිඞ්ග ශබ්ද හඳුනාගනිමු.

මේ වන විට **පුලලිඞ්ග** සහ **ඉත්ථිලිඞ්ග** ශබ්ද කිහිපයක් උගෙන ඇත. නපුංසකලිඞ්ග ශබ්ද කිහිපයක් වරනගා අර්ථගන්වන අයුරු හඳුනාගනිමු.

**අකාරාන්ත නපුංසක ලිඞ්ග 'චිත්ත' (සිත) ශබ්දය**

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | චිත්තං | චිත්තා, චිත්තානි |
| ආලපන | (හෙ)චිත්ත | (හෙ)චිත්තා, චිත්තානි |
| දුතියා | චිත්තං | චිත්තෙ, චිත්තානි |
| තතියා | චිත්තෙන | චිත්තෙහි, චිත්තෙහි |
| කරණ | චිත්තෙන | චිත්තෙහි, චිත්තෙහි |
| චතුත්ථී | චිත්තාය, චිත්තස්ස | චිත්තානං |
| පඤ්චමී | චිත්තා, චිත්තම්හා, චිත්තස්මා | චිත්තෙහි, චිත්තෙහි |
| ඡට්ඨී | චිත්තස්ස | චිත්තානං |
| සත්තමී | චිත්තෙ, චිත්තම්හි, චිත්තස්මිං | චිත්තෙසු |

අකාරාන්ත නපුංසකලිඞ්ග 'චිත්ත' ශබ්දයට සමානව වරනැගෙන ශබ්ද කිහිපයක් මෙසේය.

| | | |
|---|---|---|
| පුඤ්ඤ | - | පින |
| පාප | - | පාපය |
| ඵල | - | ගෙඩිය |
| රූප | - | රූපය |
| සොත | - | කන |
| ඝාන | - | නාසය |
| ලොචන | - | ඇස |
| දාන | - | දානය |
| ධන | - | ධනය |
| සීල | - | ශීලය |

## අකාරාන්ත නපුංසකලිඞ්ග 'චිත්ත' ශබ්දයේ අර්ථය

| විභක්තිය | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | සිත | සිත්, සිත්හු |
| ආලපන | එම්බා සිත! | එම්බා සිත් ! |
| දුතියා | සිත | සිත් |
| තතියා | සිතින් | සිත්වලින් |
| කරණ | සිතින්, සිත කරණකොට | සිත්වලින්, සිත් කරණකොට |
| චතුත්ථී | සිතට | සිත්වලට |
| පඤ්චමී | සිතෙන් | සිත්වලින් |
| ඡට්ඨී | සිතේ | සිත්වල |
| සත්තමී | සිතෙහි | සිත්වල |

### කටපාඩම් කිරීමට

පුඤ්ඤ පාප ඵල රූප සාධනං
සොත ඝාන සුඛ දුක්ඛ කාරණං
දාන සීල ධන ඣාන ලොචනං
මූල කූල බල ජාල මඞ්ගලං

නලින ලිඞ්ග මුඛඞ්ග ජලම්බුජං
පුලින ධඤ්ඤ හිරඤ්ඤ පදාමතං
පදුම පණ්ණ සුසාන වනායුධං
හදය චීවර වත්ථ කුලින්ද්‍රියං

නයන වදන යානො'දාන සොපාන පානං
භවන භුවන ලොහා'ලාත තුණ්ඩණ්ඩ පීඨං
කරණ මරණ ඤාණා'රම්මණා'රඤ්ඤ තාණං
තගර නගර තීරච්ඡත්ත ජිද්දාදකානි

## අභ්‍යාස

1. 'රමණී' පාලි පාඨය සිංහලට නගන්න.
2. පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. ලිංග තුන නම් කරන්න.
ii. ලිංගත්‍රයට අයත් ශබ්ද හඳුනා ගන්නේ කෙසේ දැයි පෙන්වා දෙන්න.
iii. ලිංගත්‍රයට අයත් නාම පහ බැගින් ලියා දක්වන්න.
iv. 'කුමාරී' ශබ්දය වරනගා එහි තේරුම ලියා දක්වන්න.
v. 'ඵල' ශබ්දය වරනගා එහි තේරුම ලියා දක්වන්න.

3. පහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

i. පුත්තා ධම්මං උග්ගණ්හාති.
ii. මිත්තා සීහෙ ඔලොකෙන්ති.
iii. මනුස්සා සකුණෙ කිණන්ති.
iv. බුද්ධා සාවකානං ධම්මං දෙසෙති.
v. තුම්හෙ බුද්ධස්ස ධම්මං සුණාථ.
vi. කාකා ආකාසෙ උඩ්ඩෙන්ති.
vii. රමණී මිත්තෙන සද්ධිං මග්ගෙ ගච්ඡති.
viii. වාණිජස්ස පුත්තා පොත්ථලිකෙ වික්කිණන්ති.

7. පහත දැක්වෙන වාක්‍ය පාලියට නගන්න.

i. සිංහයෝ මුවන් මරති.
ii. කම්කරුවෝ වැඩ කරති.
iii. මිත්‍රයෝ ගමෙහි සෙල්ලම් කරති.
iv. අපි පන්සලේ දී බුදුන්ගේ ධර්මය අසමු.
v. මව ළමයින්ට ආහාර දෙයි.
vi. අපි වෙළෙන්දාගේ පුතා දකිමු.
vii. රජ දිවයින පාලනය කරයි.
viii. සොරා ගොපල්ලාගේ ගොනෙකු සොරකම් කරයි.

**මිච්ඡා පණිහිතං චිත්තං පාපියො නං තතො කරෙ**

**වරදෙහි යෙදූ සිත නපුරක් කරන්නේ ය.**

(ධම්මපදපාළි, චිත්තවග්ග, 10 ගාථාව)

# ඡට්ඨමො පාඨො

## දුට්ඨගාමිණී රාජා



දුට්ඨගාමිණී රාජා කාකවණ්ණතිස්සරඤ්ඤො ජෙට්ඨපුත්තො. තස්ස මාතා විහාරමහාදෙවී. භාතා සද්ධාතිස්සො නාම. දහරකාලෙ තස්ස ජෙට්ඨස්ස ගාමිණී ඉති නාමං අකංසු. කුමාරස්ස ද්වාදසවස්සිකකාලෙ එකදා අත්තනො පිතා උභො කුමාරෙ ආමන්තෙත්වා දමිළෙහි සද්ධිං මා යුජ්ඣථා'ති වත්වා, භත්තපිණ්ඩං ගහෙත්වා ''අහං දමිළෙහි සද්ධිං න යුජ්ඣිස්සාමි'' ඉති සපථං කත්වා භුඤ්ජථා'ති පච්චෙකං අදාසි. ගාමිණීකුමාරො තං භත්තපිණ්ඩං භූමියං ඛිපිත්වා සයනං ගන්ත්වා, හත්ථපාදෙ සංකුචිත්වා නිපජ්ජි. කුමාරස්ස මාතා විහාරමහාදෙවී තං දිස්වා සන්තිකං ගන්ත්වා කිමත්ථං එවං සයසී'ති පුච්ඡි. කුමාරො ''උත්තරදිසායං දමිළා, දක්ඛිණපස්සෙ ගොට්ඨසමුද්දො. කථං සුඛෙනා'හං සයාමීති'' ආහ. කුමාරො පන ''මයි වයප්පත්තෙ දමිළෙහි සද්ධිං යුජ්ඣිස්සාමී''ති චින්තෙසි.

(පාලි රචනා 2)

**පදමාලාව**

| | | |
|---|---|---|
| **දුට්ඨගාමිණීරාජා** | - | දුටුගැමුණු රජතුමා |
| **රඤ්ඤො** | - | රජතුමාගේ |
| **ජෙට්ඨපුත්තො** | - | වැඩිමහල් පුතා |

| | | |
|---|---|---|
| තස්ස මාතා | - | ඔහුගේ මව |
| භාතා | - | සහෝදරයා |
| දහරකාලෙ | - | ළදරු කාලයෙහි |
| නාමං අකංසු | - | නම් කළහ |
| ද්වාදසවස්සිකකාලෙ | - | දොළොස් හැවිරිදි කාලයේ |
| අත්තනො | - | තමාගේ |
| උභො කුමාරෙ | - | කුමාරයන් දෙදෙනා |
| ආමන්තෙත්වා | - | ආමන්ත්‍රණය කොට |
| දමිළෙහි සද්ධිං | - | දෙමළුන් සමඟ |
| මා යුජ්ඣථා’ති | - | යුද්ධ නොකරව් යැයි |
| භුඤ්ජථා’ති | - | අනුභව කරව් යැයි |
| පච්චෙකං | - | එකිනෙකාට |
| භත්තපිණ්ඩං | - | බත්පිඬක් |
| ඛිපිත්වා | - | දමා |
| හත්ථපාදෙ | - | අත්පා |
| සංකුචිත්වා | - | හකුළා |
| නිපජ්ජි | - | හුන්නේය |
| කිමත්ථං | - | කුමක් නිසා |
| පුච්ඡි | - | විචාළේය |
| උත්තරදිසායං | - | උතුරු දිසාවේ |
| දක්ඛිණපස්සෙ | - | දකුණු ප්‍රදේශයේ |
| ගොඨසමුද්දා | - | ගොළු මුහුද |
| සුඛෙන | - | සුවෙන් |
| සයාමී’ති | - | නිදම් යැයි |
| වයප්පත්තෙ | - | වයසට පැමිණි කල්හි |
| චින්තෙසි | - | සිතීය |

## අභ්‍යාස

කති - කී දෙනෙක් කා - කවර තැනැත්තියක් කිං - කුමක්

කස්මා - කවර හෙයින් කෙන හෙතුනා - කුමන හේතුවකින්

1. 'දුට්ඨගාමණී රාජා' ඡේදය සිංහලට නගන්න.
2. පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

උදා:- **කො දමිළෙහි සද්ධිං යුජ්ඣිස්සාමා'ති චින්තෙසි?**
**දුට්ඨගාමිණීරාජා දමිළෙහි සද්ධිං යුජ්ඣිස්සාමී'ති චින්තෙසි.**

i. කාකවණ්ණතිස්සරඤ්ඤො කති පුත්තා අහෙසුං ?
ii. කා දුට්ඨගාමිණි කුමාරස්ස මාතා?
iii. උභො කුමාරෙ ආමන්තෙත්වා රාජා කිං අවදි?
iv. ගාමිණිකුමාරො භත්තපිණ්ඩං භූමියං ඛිපිත්වා කිං අකාසි ?
v. ගාමිණිකුමාරො මාතරං කිං අවදි?
vi. ගාමිණිකුමාරො කිං චින්තෙසි?
vii. කාකවණ්ණතිස්සරාජා උභයෙසං පුත්තානං කති භත්තපිණ්ඩානි අදාසි?
viii. කාකවණ්ණතිස්සො ගාමිණිකුමාරස්ස කස්මා කුජ්ඣි?
ix. කෙන හෙතුනා ගාමිණිකුමාරො දුට්ඨගාමිණී'ති පඤ්ඤායි ?
x. කස්මා දුට්ඨගාමිණී දමිළෙහි සද්ධිං යුජ්ඣි?

## විශේෂ අකාරාන්ත ශබ්ද

නාමයක් විභක්ති නවයෙහි සහ ඒකවචන බහුවචන දෙක්හි වරනැඟෙයි. පද නිවැරැදි ව වාක්‍යවල යෙදවීමට ඒ ඒ විභක්තිරූප හා අර්ථ පිළිබඳ දැනුමක් තිබිය යුතු ය. මේ වන විටත් නාමයක් විභක්තිවල වරනැඟෙන ආකාරය ඔබ ඉගෙනගෙන තිබේ. නාමයක් අන්ත වශයෙන් සහ ලිංග වශයෙන් වෙනස් වන බවත් ඒ ඒ අන්තය සහ ලිංගය අනුව වරනැඟීම් වෙනස් වන ආකාරයත් යළි සිහිපත් කර ගැනිමට පහත දැක්වෙන වගු මනාව හදාරන්න.

1 වගුව

| ලිංගය | නාමය |
|---|---|
| පුල්ලිඞ්ගනාම | බුද්ධ, අත්ත, රාජ, ගුණවන්තු, අග්ගි, දණ්ඩී, භික්ඛු |
| ඉත්ථිලිඞ්ගනාම | කඤ්ඤා, රත්ති, ඉත්ථී, වධූ |
| නපුංසකලිඞ්ගනාම | ඵල, පුඤ්ඤ, චිත්ත, නයන |

## 2 වගුව

| ශබ්දාන්තය | පුලලිංග | ඉත්ථිලිංග | නපුංසකලිංග |
|---|---|---|---|
| අ කාරාන්ත | බුද්ධ | - | ඵල |
| ආ කාරාන්ත | සා | කඤ්ඤා | මුඛ |
| ඉ කාරාන්ත | අග්ගි | රත්ති | අට්ඨි |
| ඊ කාරාන්ත | දණ්ඩී | නදී | සුඛවිහාරී |
| උ කාරාන්ත | භික්ඛු | මාතු | ආයු |
| ඌ කාරාන්ත | අභිභූ | වධූ | ගොත්‍රභූ |
| ඔ කාරාන්ත | ගො | ගො | චිත්තගො |

## 3 වගුව - පුලලිංගනාම

| ශබ්දාන්තය | නාමය | පඨමා එකවචන | පඨමා බහුවචන |
|---|---|---|---|
| අ කාරාන්ත | බුද්ධ | බුද්ධො | බුද්ධා |
| ආ කාරාන්ත | සා | සා | සානො |
| ඉ කාරාන්ත | අග්ගි | අග්ගි | අග්ගී, අග්ගයො |
| ඊ කාරාන්ත | දණ්ඩී | දණ්ඩී | දණ්ඩී, දණ්ඩිනො |
| උ කාරාන්ත | භික්ඛු | භික්ඛු | භික්ඛූ, භික්ඛවො |
| ඌ කාරාන්ත | අභිභූ | අභිභූ | අභිභූ, අභිභූවො |
| ඔ කාරාන්ත | ගො | ගො | ගාවො |

## 4 වගුව - ඉත්ථිලිංග නාම

| ශබ්දාන්තය | නාමය | පඨමා එකවචන | පඨමා බහුවචන |
|---|---|---|---|
| ආ කාරාන්ත | කඤ්ඤා | කඤ්ඤා | කඤ්ඤායො |
| ඉ කාරාන්ත | රත්ති | රත්ති | රත්තියො |
| ඊ කාරාන්ත | නදී | නදී | නදීයො |
| උ කාරාන්ත | මාතු | මාතා | මාතරො |
| ඌ කාරාන්ත | වධූ | වධූ | වධූයො |

## 5 වගුව - නපුංසක ලිංග නාම

| ශබ්දාන්තය | නාමය | පඨමා එකවචන | පඨමා බහුවචන |
|---|---|---|---|
| අ කාරාන්ත | චිත්ත | චිත්තං | චිත්තානි |
| ආ කාරාන්ත | - | - | - |
| ඉ කාරාන්ත | වාරි | වාරි | වාරීනි |
| ඊ කාරාන්ත | දණ්ඩී | දණ්ඩී | දණ්ඩීනි |
| උ කාරාන්ත | දාරු | දාරු | දාරූනි |
| ඌ කාරාන්ත | ධම්මඤ්ඤූ | ධම්මඤ්ඤූ | ධම්මඤ්ඤූනි |
| ඔ කාරාන්ත | චිත්තගො | චිත්තගු | චිත්තගූනි |

ඉහත වගු දෙස බලන විට නාම වරනැගීම් ශබ්දාන්ත සහ ලිංග වශයෙන් වෙනස් වන බව මනාව පැහැදිලි වේ. අකාරාන්ත පුල්ලිංග ශබ්ද වරනැගීම සමාන වුව ද ඇතැම් අකාරාන්ත පුල්ලිංග ශබ්ද වරනැගිමේදී වෙනත් ස්වරූපයක් ගන්නා බව ද පෙනේ. එම ශබ්ද **විශේෂ අකාරාන්ත ශබ්ද** ලෙස හඳුන්වමු. **බ්‍රහ්ම, අත්ත, සඛ, රාජ** යනු විශේෂ අකාරාන්ත ශබ්දයි. පහත දැක්වෙන වගුව බලන්න.

| නාමය | පඨමා එකවචන | පඨමා බහුවචන |
|---|---|---|
| බුද්ධ | බුද්ධො | බුද්ධා |
| බ්‍රහ්ම | බ්‍රහ්මා | බ්‍රහ්මානො |
| සඛ | සඛා | සඛායො |
| රාජ | රාජා | රාජානො |
| අත්ත | අත්තා | අත්තානො |

විශේෂ අකාරාන්ත ශබ්ද වරනැගීමේදී පඨමා විභක්ති ඒකවචන වෙනස් වන ආකාරය ඉහත වගුවෙන් දැක්වේ. මෙම වෙනස සෙසු විභක්තිවල ද සිදුවන බව බුද්ධ ශබ්දය හා සසඳා වරනැගීමෙන් තේරුම්ගත හැකි ය.

| විභක්තිය | නාමය | ඒකවචන | බහුවචන |
|---|---|---|---|
| **පඨමා** | බුදධ<br>රාජ<br>අතත | බුදෙධා<br>රාජා<br>අතතා | බුදධා<br>රාජානො<br>අතතානො |
| **ආලපන** | බුදධ<br>රාජ<br>අතත | හෙ බුදධ<br>හෙ රාජ<br>හෙ අතත | හෙ බුදධා<br>හෙ රාජානො<br>හෙ අතතානො |
| **දුතියා** | බුදධ<br>රාජ<br>අතත | බුදධං<br>රාජානං, රාජං<br>අතතානං, අතතං | බුදෙධ<br>රාජානො<br>අතතානො |
| **තතියා** | බුදධ<br>රාජ<br>අතත | බුදෙධන<br>රඤඤා, රාජෙන<br>අතෙතන, අතතනා | බුදෙධභි, බුදෙධහි<br>රාජෙභි, රාජෙහි, රාජූභි, රාජූහි<br>අතතනෙභි, අතතනෙහි |
| **කරණ** | බුදධ<br>රාජ<br>අතත | බුදෙධන<br>රඤඤා, රාජෙන<br>අතෙතන, අතතනා | බුදෙධභි,බුදෙධහි<br>රාජෙභි,රාජෙහි,රාජූභි,රාජූහි<br>අතතනෙභි,අතතනෙහි |
| **චතුත්ථී** | බුදධ<br>රාජ<br>අතත | බුදධාය, බුදධසස<br>රඤෙඤා, රාජිනො<br>අතතනො | බුදධානං<br>රඤඤං,රාජූනං,රාජානං<br>අතතානං |
| **පඤචමී** | බුදධ<br>රාජ<br>අතත | බුදධා, බුදධමහා, බුදධසමා<br>රඤඤා, රාජමහා, රාජසමා<br>අතතනා | බුදෙධභි, බුදෙධහි<br>රාජෙභි, රාජෙහි, රාජූභි, රාජූහි<br>අතතනෙභි, අතතනෙහි |

| | | | |
|---|---|---|---|
| **ඡට්ඨී** | බුද්ධ<br>රාජ<br>අත්ත | බුද්ධස්ස<br>රඤ්ඤො, රාජිනො<br>අත්තනො | බුද්ධානං<br>රඤ්ඤං, රාජූනං, රාජානං<br>අත්තානං |
| **සත්තමී** | බුද්ධ<br>රාජ<br>අත්ත | බුද්ධෙ, බුද්ධම්හි, බුද්ධස්මිං<br>රඤ්ඤෙ, රාජම්හි, රාජස්මිං<br>අත්තනි | බුද්ධෙසු<br>රාජෙසු, රාජූසු<br>අත්තනෙසු |

### අභ්‍යාස

1. පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. ලිංග වශයෙන් නාම ප්‍රභේද කර දක්වන්න.
ii. අන්ත වශයෙන් නාම වගුගත කර දක්වන්න.
iii. විශේෂ අකාරාන්ත නාම හතක් ලියා දක්වන්න.

2. පහත දැක්වෙන නාමපදවල විභක්තිය සහ වචනය ලියා තේරුම දක්වන්න.

| නාමපදය | විභක්තිය | වචනය | තේරුම |
|---|---|---|---|
| රාජා | | | |
| රඤ්ඤො | | | |
| පුත්තො | | | |
| දෙවී | | | |
| භාතා | | | |
| ජෙට්ඨස්ස | | | |
| දම්ළෙහි | | | |
| භත්තපිණ්ඩං | | | |
| භූමියං | | | |

3. විශේෂ අකාරාන්ත නාමපද යෙදුණු වාක්‍ය දහයක් සොයා ලියන්න.

4. අත්ත ශබ්දය සහ රාජ ශබ්දය සියලු විභක්තිවල වරනගන්න.

5. පහත දැක්වෙන පාලි වාක්‍ය සිංහලට නගන්න.

i. බුද්ධො ධම්මං භාසති.
ii. ජෙට්ඨපුත්තා වීහිං මිණාති.
iii. භික්ඛවො අධිපතීනං ගාමං ගච්ඡන්ති.
iv. චොරා අධිපතිනො නිධිං හරන්ති.
v. රඤ්ඤො අසෙසා මග්ගෙ ධාවති.
vi. ඉසයො කවීනං ධම්මං දෙසෙන්ති.
vii. සානො අඞ්ගණම්හා ගෙහං ධාවන්ති
viii. අහං බුද්ධස්ස පාදෙ පූජෙමි.
ix. දුට්ඨගාමණීරාජා රට්ඨං පාලෙසි.
x. අරයො භටස්ස අසිම්හා භායන්ති.

6. පහත දැක්වෙන වාක්‍ය පාලියට නගන්න.

i. ගවයෝ පාරේ දුවති.
ii. සොරු ගමේ ඇවිදිති.
iii. කපුටා ගසෙන් ඉගිළුණේය.
iv. පණ්ඩිතයන්ගේ මැණික් වෙළෙන්දෝ ගත්හ.
v. ඇස් ඇත්තා උදෑසන සිල්වතුන් බලයි.
vi. ධනවතා හිමාලයෙන් සිංහයකු ගෙනාවේය.
vii. පුරුෂයා වී දුන්නේය.
viii. රජුගේ අතේ කඩුවක් තිබේ.
ix. වඳුරෝ ගෙඩි කති.
x. අම්මා බත් පිසුවාය.

අත්තනොව අවෙක්ඛෙය්‍ය, කතානි අකතානි ච

තමා කළ නොකළ දෙය විමසා බැලිය යුතු ය.

(ධම්මපදපාළි, පුප්ඵවග්ග, 7 ගාථාව)

# සත්තමො පාඨො

## සුරියො



සුරියො පභාතෙ උදෙති. සුරියස්ස බිම්බං ගොලාකාරං භවති. සො අන්ධකාරං විනාසෙති. අත්තනො රංසියො ච නිච්ඡාරෙති. සුරියෙ උග්ගච්ඡන්තෙ විහඞ්ගමා කූජන්ති. දාරකා සයනෙහි උට්ඨහන්ති. පාඨාලයං ගච්ඡන්ති. කස්සකා ඛෙත්තං ගච්ඡන්ති. බහුජනා නිජකම්මන්තෙසු නිරතා භවන්ති. සුරියාලොකං ලභිත්වා ථලාකෙසු පදුමානි විකසන්ති. පභාතෙ ච සායණ්හෙ ච ආලොකො න චණ්ඩො. සුරියො අනුදිනං අම්හාකං ආලොකං ආහරති. ආකාසෙ දිස්සමානෙසු වත්ථූසු සුරියො විසාලතමො භවති. සුරියො එකො දෙවො'ති මඤ්ඤන්ති. තස්මා ජම්බුදීපිකා එකච්චෙ මනුස්සා සුරියං නමන්ති. සුරියො පභාතෙ උදයාචලතො උග්ගන්ත්වා සායණ්හෙ අත්ථං ගච්ඡති. තස්මිං සමයෙ ලොකො අන්ධකාරෙ නිමුජ්ජති. අම්හාකං ආලොකං දදන්තො සුරියො මිත්තො නනු?

(පාලි රචනා 2)

**පදමාලාව**

| | | |
|---|---|---|
| **සුරියො** | - | හිරු |
| **පභාතෙ** | - | උදෑසන |
| **බිම්බං** | - | බිම්බය |
| **අන්ධකාරං** | - | අඳුර |
| **රංසියො** | - | රැස් |

| | | |
|---|---|---|
| **විහඞ්ගමා** | - | කුරුල්ලෝ |
| **සයනෙහි** | - | යහන්වලින් |
| **කස්සකා** | - | ගොවියෝ |
| **නිජකම්මන්තෙසු** | - | තම කර්මාන්තවල |
| **ඵලාකෙසු** | - | විල්වල |
| **සායණ්හෙ** | - | සවස |
| **සුරියාලොකං** | - | සූර්යාලෝකය |
| **දිස්සමානෙසු වත්ථූසු** | - | පෙනෙන වස්තූන් අතරෙහි |
| **අනුදිනං** | - | දිනපතා |
| **උදයාචලතො** | - | උදය පර්වතයෙන් |
| **අත්ථං** | - | අස්තයට |
| **දදන්තා** | - | දෙන්නා වූ |

## අභ්‍යාස

**කීදිසං** - කෙබඳු **කිං** - කුමක් **කදා** - කවදා **කො** - කවරෙක්
**කුතො** - කොහින් **කත්ථ** - කොහි **කානි** - මොනවා

1. 'සුරියො' පාඩම සිංහලට නගන්න.
2. පහත දැක්වෙන ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

උදා:- **කො පභාතෙ උදෙති? සුරියො පභාතෙ උදෙති.**

i. සුරියස්ස බිම්බං කීදිසං භවති?
ii. සුරියො කිං කරොති?
iii. සුරියෙ උග්ගච්ඡන්තෙ එතෙ කිං කරොන්ති?
විහඞ්ගමා -
කස්සකා -
බහුජනා -
දාරකා -
iv. කදා සුරියස්ස බිම්බං රත්තං භවති.
v. කදා සුරියස්ස ආලොකො න චණ්ඩො.
vi. ආකාසෙ දිස්සමානෙසු වත්ථූසු කො විසාලතමො භවති

vii. සූරියො කුතො උග්ගච්ඡති.
viii. කදා ලොකො අන්ධකාරෙ නිමුජ්ජති.
ix. සූරියාලොකං ලභිත්වා කානි කාති විකසන්ති.
x. සූරියො අම්හාකං කිං දදාති.

**ආඛ්‍යාත පද**

කිසියම් කිරීමක් හෝ වීමක් දැක්වෙන ක්‍රියාපද 'ආඛ්‍යාත' පද නමින් හැඳින්වේ. වාක්‍යයක් සම්පූර්ණවීමට ක්‍රියාපද අත්‍යවශ්‍ය වන අතර වාක්‍යයක අදහස නිරවුල්වීමට ද ක්‍රියාපදයේ අවශ්‍යතාව බලපායි.

**පුරිසො ගාමං**
**බාලකා කන්දුකෙන**
**උපාසකො යාචකස්ස දානං**
**මාතා භත්තං**
**බුද්ධො ධම්මං**

යන වාක්‍යවල ආඛ්‍යාත පදයක් දක්නට නො ලැබෙයි. එහෙයින් එම වාක්‍යවලින් අදහස සම්පූර්ණව ප්‍රකාශ නොවෙයි. එම වාක්‍යවලට ක්‍රියාපදයක් යෙදූ විට වාක්‍ය මෙන් ම අදහස ද නිරවුල් වන අයුරු බලන්න.

පුරිසො ගාමං **ගච්ඡති.**
බාලකා කන්දුකෙන **කීළන්ති.**
උපාසකො යාචකස්ස දානං **දෙති.**
මාතා භත්තං **පචති.**
බුද්ධො ධම්මං **දෙසෙති.**

ඉහත වාක්‍යවල යෙදෙන **ගච්ඡති, කීළන්ති, දෙති, පචති, දෙසෙති** යන පද **ක්‍රියා** හෙවත් **ආඛ්‍යාත** පදයි.

**ආඛ්‍යාත පද සාදා ගැනීම**

ධාතු ප්‍රකෘතියකට ආඛ්‍යාත ප්‍රත්‍යයක් එක් කිරීමෙන් ආඛ්‍යාත පදයක් සකසා ගත හැකි ය. පහත වගුව අධ්‍යයනය කරන්න.

| ධාතු ප්‍රකෘතිය | ආඛ්‍යාත ප්‍රත්‍ය | ආඛ්‍යාත පදය |
|---|---|---|
| √පච | ති | පචති (පිසයි) |
| √ලිඛ | ති | ලිඛති (ලියයි) |
| √හස | න්ති | හසන්ති (සිනාසෙති) |
| √පඨ | න්ති | පඨන්ති (පාඩම්කරති) |
| √පච | සි | පචසි (පිසහි) |
| √ලිඛ | සි | ලිඛසි (ලියහි) |
| √හස | ථ | හසථ (සිනාසෙහු) |
| √පඨ | ථ | පඨථ (පාඩම් කරහු) |
| √පච | මි | පචාමි (පිසමි) |
| √ලිඛ | මි | ලිඛාමි (ලියමි) |
| √හස | ම | හසාම (සිනාසෙමු) |
| √පඨ | ම | පඨාම (පාඩම් කරමු) |

**ආඛ්‍යාත පදයක ලක්ෂණ**

ආඛ්‍යාත පදයක ලක්ෂණ කිහිපයක් දැකිය හැකි ය.

1. කාල භේදයෙන් යුක්තවීම
2. පුරුෂ භේදයෙන් යුක්තවීම
3. කාරක භේදයෙන් යුක්තවීම
4. වචන භේදයෙන් යුක්තවීම
5. ලිංග භේදයක් නොමැතිවීම
6. ක්‍රියා අර්ථයක් ප්‍රකාශවීම

යන්තිකාලං තිපුරිසං - ක්‍රියාවාචි තිකාරකං
අත්තිලිඞ්ගං ද්විවචනං - තදාඛ්‍යාතන්ති වුච්චති.

**කාලත්‍රයක්, පුරුෂත්‍රයක්, කාරකත්‍රයක් හා වචනද්වයක් ඇති, ක්‍රියාර්ථයක් පවසන ලිංගභේදයක් නැති යමක් වේ ද එයට ආඛ්‍යාතය යැයි කියනු ලැබේ.**

පාලි භාෂාවේ ධාතු වරනැගෙන වත්තමාන, පඤ්චමී ආදි විවිධ වරනැගීම් ප්‍රභේද '**ආඛ්‍යාත විභක්ති**' නමින් හැඳින්වෙයි. ඒවා ගණනින් අටකි.

1. වත්තමානා
2. පඤ්චමී
3. සත්තමී
4. හීයත්තනී
5. අජ්ජතනී
6. පරොක්ඛා
7. භවිස්සන්ති
8. කාලාතිපත්ති යනුවෙනි.

මෙයින් **වත්තමානා** (වර්තමාන) **භවිස්සන්ති** (අනාගත) ආඛ්‍යාත පළමු වසරේ දී ඉගෙන ඇත. පහත දැක්වෙන වගු හදාරන්න.

**වර්තමාන කාලය - වත්තමානා**

**ප්‍රත්‍යයමාලාව - පරස්සපද** - ති, අන්ති, සි, ථ, මි, ම
**අත්තනොපද** - තෙ, අන්තෙ, සෙ, ව්හෙ, එ, මෙහ

| | පරස්සපද | | අත්තනොපද | |
|---|---|---|---|---|
| පුරිස | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| පඨම පුරිස | පචති (පිසයි) | පචන්ති (පිසති) | පචතෙ | පචන්තෙ |
| මජ්ඣිම පුරිස | පචසි (පිසහි) | පචථ (පිසහු) | පචසෙ | පචව්හෙ |
| උත්තම පුරිස | පචාමි (පිසමි) | පචාම (පිසමු) | පචෙ | පචාමෙහ |

**අනාගත කාලය - භවිස්සන්ති**

**ප්‍රත්‍යයමාලාව - පරස්සපද** - ස්සති, ස්සන්ති, ස්සසි, ස්සථ, ස්සාමි, ස්සාම
**අත්තනොපද** - ස්සතෙ, ස්සන්තෙ, ස්සසෙ, ස්සව්හෙ, ස්සං, ස්සාමෙහ

| | පරස්සපද | | අත්තනොපද | |
|---|---|---|---|---|
| **පුරිස** | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| **පඨම** | පචිස්සති (පිසන්නේය) | පචිස්සන්ති (පිසන්නෝය) | පචිස්සතෙ | පචිස්සන්තෙ |
| **මජ්ඣිම** | පචිස්සසි (පිසන්නෙහි) | පචිස්සථ (පිසන්නෙහු) | පචිස්සසෙ | පචිස්සව්හෙ |
| **උත්තම** | පචිස්සාමි (පිසන්නෙමි) | පචිස්සාම (පිසන්නෙමු) | පචිස්සං | පචිස්සාමෙහ |

වර්තමානකාලික ක්‍රියා අර්ථය පැවසීම සඳහා **වත්තමානා** ආඛ්‍යාතය භාවිත වන අතර අනාගතකාලික ක්‍රියාර්ථය පැවසීමට **භවිස්සන්ති** ආඛ්‍යාතය යොදා ගැනේ. පහත දැක්වෙන වාක්‍ය දෙස බලන්න.

| වත්තමාන | භවිස්සන්ති |
|---|---|
| පුරිසො ගාමං ගච්ඡති. | පුරිසො ගාමං ගච්ඡිස්සති. |
| බාලකා අක්ඛරානි ලිඛන්ති. | බාලකා අක්ඛරානි ලිඛිස්සන්ති. |
| ත්වං නගරං ගච්ඡසි. | ත්වං නගරං ගච්ඡිස්සසි. |
| තුම්හෙ පරිවෙණං ගච්ඡථ. | තුම්හෙ පරිවෙණං ගච්ඡිස්සථ. |
| අහං ධම්මං සුණාමි. | අහං ධම්මං සුණිස්සාමි. |
| මයං සුරියං වන්දාම. | මයං සුරියං වන්දිස්සාම. |

ආඛ්‍යාත විභක්ති ප්‍රත්‍යයන් පරස්සපද හා අත්තනොපද වශයෙන් දෙපරිදි වේ. ක්‍රියාවෙන් උපන් ඵලය තමා වෙත නොපැමිණ අනෙකෙකු කෙරෙහි පැවතියේ නම් එය පරස්සපදයයි. ක්‍රියා ඵලය තමා වෙත පිහිටියේ නම් ඒ අත්තනොපදයයි. මෙම පාඩමේදී අත්තනොපදය වාචෝද්ගත කිරීම සඳහා පමණක් භාවිත වන අතර වාක්‍ය පරිවර්තනයේ දී හා වාක්‍ය නිර්මාණයේ දී පරස්සපදය පමණක් භාවිත කරමු. පහත දැක්වෙන වගු අධ්‍යයනය කරන්න.

## වත්තමානා පරස්සපද

| පඨම පුරිස | | මජ්ඣිම පුරිස | | උත්තම පුරිස | |
|---|---|---|---|---|---|
| එකවචන | බහුවචන | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| පචති | පචන්ති | පචසි | පචථ | පචාමි | පචාම |
| ගච්ඡති | ගච්ඡන්ති | ගච්ඡසි | ගච්ඡථ | ගච්ඡාමි | ගච්ඡාම |
| ධාවති | ධාවන්ති | ධාවසි | ධාවථ | ධාවාමි | ධාවාම |
| ඛාදති | ඛාදන්ති | ඛාදසි | ඛාදථ | ඛාදාමි | ඛාදාම |
| වන්දති | වන්දන්ති | වන්දසි | වන්දථ | වන්දාමි | වන්දාම |

## වත්තමානා අත්තනොපද

| පඨම පුරිස | | මජ්ඣිම පුරිස | | උත්තම පුරිස | |
|---|---|---|---|---|---|
| එකවචන | බහුවචන | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| පචතෙ | පචන්තෙ | පචසෙ | පචව්හෙ | පචෙ | පචාම්හෙ |
| ගච්ඡතෙ | ගච්ඡන්තෙ | ගච්ඡසෙ | ගච්ඡව්හෙ | ගච්ඡෙ | ගච්ඡාම්හෙ |
| ධාවතෙ | ධාවන්තෙ | ධාවසෙ | ධාවව්හෙ | ධාවෙ | ධාවාම්හෙ |
| ඛාදතෙ | ඛාදන්තෙ | ඛාදසෙ | ඛාදව්හෙ | ඛාදෙ | ඛාදාම්හෙ |
| වන්දතෙ | වන්දන්තෙ | වන්දසෙ | වන්දව්හෙ | වන්දෙ | වන්දාම්හෙ |

## භවිස්සන්ති පරස්සපද

| පඨම පුරිස | | මජ්ඣිම පුරිස | | උත්තම පුරිස | |
|---|---|---|---|---|---|
| එකවචන | බහුවචන | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| පචිස්සති | පචිස්සන්ති | පචිස්සසි | පචිස්සථ | පචිස්සාමි | පචිස්සාම |
| ගච්ඡිස්සති | ගච්ඡිස්සන්ති | ගච්ඡිස්සසි | ගච්ඡිස්සථ | ගච්ඡිස්සාමි | ගච්ඡිස්සාම |
| ධාවිස්සති | ධාවිස්සන්ති | ධාවිස්සසි | ධාවිස්සථ | ධාවිස්සාමි | ධාවිස්සාම |
| ඛාදිස්සති | ඛාදිස්සන්ති | ඛාදිස්සසි | ඛාදිස්සථ | ඛාදිස්සාමි | ඛාදිස්සාම |
| වන්දිස්සති | වන්දිස්සන්ති | වන්දිස්සසි | වන්දිස්සථ | වන්දිස්සාමි | වන්දිස්සාම |

### හවිස්සන්ති අත්තනොපද

| පඨම පුරිස | | මජ්ඣිම පුරිස | | උත්තම පුරිස | |
|---|---|---|---|---|---|
| ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන |
| පචිස්සතෙ | පචිස්සන්තෙ | පචිස්සසෙ | පචිස්සව්හෙ | පචිස්සං | පචිස්සාමෙහ |
| ගච්ඡිස්සතෙ | ගච්ඡිස්සන්තෙ | ගච්ඡිස්සසෙ | ගච්ඡිස්සව්හෙ | ගච්ඡිස්සං | ගච්ඡිස්සාමෙහ |
| ධාවිස්සතෙ | ධාවිස්සන්තෙ | ධාවිස්සසෙ | ධාවිස්සව්හෙ | ධාවිස්සං | ධාවිස්සාමෙහ |
| ඛාදිස්සතෙ | ඛාදිස්සන්තෙ | ඛාදිස්සසෙ | ඛාදිස්සව්හෙ | ඛාදිස්සං | ඛාදිස්සාමෙහ |
| වන්දිස්සතෙ | වන්දිස්සන්තෙ | වන්දිස්සසෙ | වන්දිස්සව්හෙ | වන්දිස්සං | වන්දිස්සාමෙහ |

**අභ්‍යාස**

1. පහත දැක්වෙන ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

i. ආඛ්‍යාත පදයක් යනු කුමක් ද?
ii. ආඛ්‍යාත පදයක් සාදාගන්නා ආකාරය පෙන්වා දෙන්න.
iii. ආඛ්‍යාත පදයක ලක්ෂණ දැක්වෙන ගාථා පාඨය ලියන්න.
iv. ආඛ්‍යාත විභක්ති අට ලියා දක්වන්න.
v. වත්තමානා, හවිස්සන්ති ආඛ්‍යාත විභක්තීන්හි ප්‍රත්‍යයමාලා වගුගත කරන්න.

2. 'සුරියො' ඡේදයේ ඇති ආඛ්‍යාත පද උපුටා ඒකවචන බහුවචන වශයෙන් වෙන් කරන්න.

3. 'සුරියො' ඡේදයේ දැක්වෙන 'වත්තමාන' ආඛ්‍යාත පදවල හවිස්සන්ති ආඛ්‍යාත රූප ලියා දක්වන්න.

4. √ලභ ධාතුව හා √භූ ධාතුව 'වත්තමානා' 'හවිස්සන්ති' ආඛ්‍යාත විභක්තිවල වරනගා තේරුම ද සහිත ව වගුගත කරන්න.

5. පහත දැක්වෙන වාක්‍ය සිංහලට නගන්න.

i. පුත්තො ධම්මං උග්ගණ්හාති.
ii. ගොපාලො ගොණෙ වික්කිණිස්සන්ති.
iii. දාසා මිත්තානං සුනඛෙ හරන්ති.
iv. චොරා මනුස්සානං අස්සෙ චොරෙස්සන්ති.
v. වාණිජස්ස පුත්තා අජෙ වික්කිණන්ති.

6. පහත දැක්වෙන වාක්‍ය පාලියට නගන්න.

i. මිත්‍රයෝ සිංහයන් බලති.
ii. ගොවියෝ ගොනුන් මිලට ගනිති.
iii. ඔබ පහන් දල්වහි.
iv. සිංහයා මුවෙකු මරන්නේය.
v. අපි දිවයින රකින්නෙමු.

> දීඝො බාලානං සංසාරො, සද්ධම්මං අවිජානතං
>
> **සද්ධර්මය නොදන්නා වූ බාලයන්ට සංසාරය දිගය.**
>
> (ධම්මපදපාළි, බාලවග්ග, 1 ගාථාව)

# අට්ඨමො පාඨො

## සාගරො



සාගරස්ස දස්සනං විනොදාවහං භවති. ධවලස්සා විය ගච්ඡන්තියො තරඞ්ගමාලායො පවට්ටෙන්ති. තථාපි තරඞ්ගමාලා වෙලං නාතික්කමන්ති. තරඞ්ගමත්ථකෙ ඵෙණානි සන්ති. ඵෙණානි ධවලානි හොන්ති. තස්මා තරඞ්ගානි ධවලානි හොන්ති. සාගරෙ මච්ඡා ජීවන්ති. තථා කච්ඡපා ච සිප්පී ච වසන්ති. සාගරජලං ඛරරසං භවති. තස්මා සාගරජලස්ස **ඛරොදකන්ති** නාමං භවති. ඛරොදකෙන ලොණං නිබ්බත්තෙන්ති. ලොණං පන ජනානං රසානං එකො රසො භවති. ලවණෙන විනා සූපව්‍යඤ්ජනානං කුතො මධුරත්තං. සාගරතො සතතං සීකරං ආවහන්තො සීතවාතො වායති. සමුද්දතීරං විනොදං ජනයති. නානාජනා අනුදිනං සායණ්හෙ තස්මිං සන්නිපතන්ති. සාගරාසන්නගාමවාසිකා කෙවට්ටා මච්ඡෙ හන්ත්වා ජීවිකං කප්පෙන්ති.

(පාලි රචනා 2)

**පදමාලාව**

**සාගරස්ස** - සාගරයේ
**විනොදාවහං** - සතුට ගෙනදෙන
**ධවලස්සා** - සුදු අශ්වයෝ
**තරඞ්ගමාලා** - රළපෙළ
**පවට්ටෙන්ති** - පෙරළෙති
**වෙලං** - වෙරළ

| | | |
|---|---|---|
| **න අතික්කමන්ති** | - | නො ඉක්මවති |
| **මච්ඡා** | - | මත්ස්‍යයෝ |
| **කච්ඡපා** | - | ඉදිබුවෝ |
| **සිප්පී** | - | මුතු බෙල්ලෝ |
| **ඛරරසං** | - | ලුණු රස |
| **ලොණං** | - | ලුණු |
| **ඡන්නං රසානං** | - | සයවැදෑරුම් රස අතරෙන් |
| **මධුරත්තං** | - | මිහිරි බව |
| **කෙවට්ටා** | - | ධීවරයෝ /කෙවුලෝ |
| **ඵෙණානි** | - | පෙණ |
| **ඛරොදකං** | - | කරදිය |
| **නිබ්බත්තෙන්ති** | - | නිපදවයි |
| **සතතං** | - | නිරතුරුව |
| **සීකරං** | - | (පිනිබිඳු) වාතයෙන් විසුරුවන ලද ජලය |
| **සමුද්දතීරං** | - | මුහුදු වෙරළ |
| **අනුදිනං** | - | දිනපතා |
| **සන්නිපතන්ති** | - | රැස්වෙති |

## අභ්‍යාස

**කථං** - කෙසේ **කිං නුඛො** - කිම ද **කානි** - මොනවා
**කීදිසං** - කෙබඳු **කෙ** - කවරහු **කිං** - කුමක්
**කෙන** - කුමකින්

1. 'සාගරො' පාඩම සිංහලට නගන්න.
2. පහත දැක්වෙන ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

උදා:- **කෙ මච්ඡෙ හන්ත්වා ජීවන්ති?**
**සාගරාසන්නගාමවාසිකා මච්ඡෙ හන්ත්වා ජීවන්ති**

i. තරඞ්ගමාලායො කථං පවට්ටන්ති ?
ii. කිං නුඛො තරඞ්ගමාලායො වෙලං අතික්කමන්ති?
iii. තරඞ්ගමත්ථකෙ කානි සන්ති?
iv. සාගරජලං කීදිසං භවති?
v. සාගරෙ කෙ ජීවන්ති, කෙ වසන්ති?

vi. අත්ථි නුඛො සාගරජලස්ස අපරනාමං?
vii. සමුද්දතීරං කිං ජනයති?
viii. කෙවට්ටා කථං ජීවිකං කප්පෙන්ති?
ix. කෙන ලොණං නිබ්බත්තෙන්ති?
x. කිං ත්වං සාගරං දිට්ඨපුබ්බො ?

## අජ්ජතනී ආඛ්‍යාත විභක්තිය

මීට ඉහත පාඩමේ දී වර්තමානකාල හා අනාගතකාල ආඛ්‍යාත විභක්ති දෙක හදාරා ඇත. **වත්තමානා, භවිස්සන්ති** ඒ ආඛ්‍යාත විභක්ති දෙකයි. මෙම පාඩමේ දී අතීතකාල ආඛ්‍යාත විභක්තියක් වන **අජ්ජතනී** සහ කාලයක් නොදක්වන **පඤ්චමී** ආඛ්‍යාත විභක්ති හදාරමු. අද පටන් ආසන්න අතීතකාලයේ ක්‍රියාවක් ප්‍රකාශ කළ යුතු විට **අජ්ජතනී** ආඛ්‍යාතය භාවිත කෙරේ.

**අජ්ජතනී පරස්සපද ප්‍රත්‍යය මාලාව**
**(ඊ, උං, ඕ, ත්ථ, ඉං, ම්හා)**

| | එකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| පුරිස | සර්වනාමය | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය | සර්වනාමය | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය |
| **පඨම** | සො | ඉ<br>ඊ | අපචි, පචි<br>අපචී, පචී<br>(පිසුවේය) | තෙ | උං,<br>ඉංසු | අපචුං,<br>පචුං<br>අපචිංසු,<br>පචිංසු<br>(පිසූහ) |
| **මජ්ඣිම** | ත්වං | ඕ | අපචො,<br>පචො<br>(පිසුවෙහි) | තුම්හෙ | ත්ථ | අපචිත්ථ,<br>පචිත්ථ<br>(පිසුවෙහු) |
| **උත්තම** | අහං | ඉං | අපචිං, පචිං<br>(පිසුවෙමි) | මයං | ම්හ,<br>ම්හා | අපචිම්හ,<br>පචිම්හ,<br>අපචිම්හා,<br>පචිම්හා<br>(පිසුවෙමු) |

## අජ්ජතනී අත්තනොපද ප්‍රත්‍යය මාලාව

(ආ, ඌ, සෙ, វ්හං, අ, මෙහ)

| | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| පුරිස | සර්වනාමය | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය | සර්වනාමය | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය |
| පඨම | සො | ආ | අපචා, පචා (පිසුවේය) | තෙ | ඌ | අපචූ, පචූ (පිසුවෝය) |
| මජ්ඣිම | ත්වං | සෙ | අපචිසෙ, පචිසෙ (පිසුවෙහි) | තුම්හෙ | ව්හං | අපචිව්හං, පචිව්හං (පිසුවෙහු) |
| උත්තම | අහං | අ | අපච, පච (පිසුවෙමි) | මයං | මෙහ | අපචිමෙහ, පචිමෙහ (පිසුවෙමු) |

පහත දැක්වෙන වගු හොඳින් නිරීක්ෂණය කරන්න.

### අජ්ජතනී පරස්සපද

| පඨම පුරිස | | මජ්ඣිම පුරිස | | උත්තම පුරිස | |
|---|---|---|---|---|---|
| ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන |
| අධාවී,ධාවී අධාවි,ධාවි | අධාවිංසු, ධාවිංසු | අධාවො, ධාවො | අධාවිත්ථ, ධාවිත්ථ | අධාවිං, ධාවිං | අධාවිම්හ, ධාවිම්හ ධාවිම්හා, ධාවිම්හා |
| අබාදී,බාදී අබාදි,බාදි | අබාදිංසු, බාදිංසු | අබාදො, බාදො | අබාදිත්ථ, බාදිත්ථ | අබාදිං, බාදිං | අබාදිම්හ, බාදිම්හ අබාදිම්හා, බාදිම්හා |

| | | | | | |
|---|---|---|---|---|---|
| අභවී,භවී<br>අභවි,භවි | අභවිංසු,<br>භවිංසු | අභවො,<br>භවො | අභවිත්ථ,<br>භවිත්ථ | අභවිං,<br>භවිං | අභවිම්හ,<br>භවිම්හ<br>අභවිම්හා,<br>භවිම්හා |
| අවන්දී,වන්දී<br>අවන්දි,වන්දි | අවන්දිංසු,<br>වන්දිංසු | අවන්දො,<br>වන්දො | අවන්දිත්ථ,<br>වන්දිත්ථ | අවන්දිං,<br>වන්දිං | අවන්දිම්හ,<br>වන්දිම්හ<br>අවන්දිම්හා,<br>වන්දිම්හා |

## අජ්ජතනී අත්තනොපද

| පඨම පුරිස | | මජ්ඣිම පුරිස | | උත්තම පුරිස | |
|---|---|---|---|---|---|
| ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන |
| අභවා,<br>භවා | අභවුං,<br>භවුං | අභවිසෙ,<br>භවිසෙ | අභවිව්හං,<br>භවිව්හං | අභව, භව | අභවිම්හෙ<br>භවිම්හෙ |
| අචරා,<br>චරා | අචරුං,<br>චරුං | අචරිසෙ,<br>චරිසෙ | අචරිව්හං,<br>චරිව්හං | අචර, චර | අචරිම්හෙ<br>චරිම්හෙ |
| අකිණා,<br>කිණා | අකිණුං,<br>කිණුං | අකිණිසෙ,<br>කිණිසෙ | අකිණිව්හං,<br>කිණිව්හං | අකිණ,<br>කිණ | අකිණිම්හෙ<br>කිණිම්හෙ |
| අඩසා,<br>ඩසා | අඩසුං,<br>ඩසුං | අඩසිසෙ,<br>ඩසසෙ | අඩසිව්හං,<br>ඩසිව්හං | අඩස,<br>ඩස | අඩසිම්හෙ<br>ඩසිම්හෙ |
| අගමා,<br>ගමා | අගමුං,<br>ගමුං | අගමිසෙ,<br>ගමිසෙ | අගමිව්හං,<br>ගමිව්හං | අගම,<br>ගම | අගමිම්හෙ<br>ගමිම්හෙ |

## පඤ්චමී ආඛ්‍යාත විභක්තිය

අණකිරීමක් හෝ ආශිර්වාදයක් පැවසීමට **පඤ්චමී** ආඛ්‍යාත විභක්තිය යොදා ගැනේ. එම නිසා එව, යව, තබවු යනාදී විධානයක් හෝ වේවා!, කෙරේවා!, සිටීවා යනාදී ආශිර්වාදයක් හෝ ප්‍රාර්ථනාවක් කළයුතු කල්හි පඤ්චමී ආඛ්‍යාත විභක්තිය භාවිත කෙරේ.

**පඤ්චමී ආඛ්‍යාත පරස්සපද ප්‍රත්‍යය මාලාව**
**(තු, අන්තු, හි, ථ, මි, ම)**

| | එකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| පුරිස | සර්වනාමය | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය | සර්වනාමය | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය |
| පඨම | සො | තු | පචතු (වේවා) | තෙ | අන්තු | පචන්තු (වෙත්වා) |
| මජ්ඣිම | ත්වං | හි | පච, පචාහි (වෙහිවා) | තුම්හෙ | ථ | පචථ (වෙහුවා) |
| උත්තම | අහං | මි | පචාමි (වෙම්වා) | මයං | ම | පචාම (වෙමුවා) |

**පඤ්චමී අත්තනොපද ප්‍රත්‍යය මාලාව**
**(තං, අන්තං, ස්සු, වෙහො, එ, ආමසෙ)**

| | එකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| පුරිස | සර්වනාමය | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය | සර්වනාමය | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය |
| පඨම | සො | තං | පචතං | තෙ | අන්තං | පචන්තං |
| මජ්ඣිම | ත්වං | ස්සු | පචස්සු | තුම්හෙ | වෙහො | පචවෙහො |
| උත්තම | අහං | එ | පචෙ | මයං | ආමසෙ | පචාමසෙ |

පහත දැක්වෙන වගු හොඳින් නිරීක්ෂණය කරන්න.

### පඤ්චමී පරස්සපද

| පඨම පුරිස | | මජ්ඣිම පුරිස | | උත්තම පුරිස | |
|---|---|---|---|---|---|
| ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන |
| ගච්ඡතු | ගච්ඡන්තු | ගච්ඡ/ගච්ඡාහි | ගච්ඡථ | ගච්ඡාමි | ගච්ඡාම |
| භවතු | භවන්තු | භව/භවාහි | භවථ | භවාමි | භවාම |
| වසතු | වසන්තු | වස/වසාහි | වසථ | වසාමි | වසාම |
| ධාවතු | ධාවන්තු | ධාව/ධාවාහි | ධාවථ | ධාවාමි | ධාවාම |
| ලිඛතු | ලිඛන්තු | ලිඛ/ලිඛාහි | ලිඛථ | ලිඛාමි | ලිඛාම |

### පඤ්චමී අත්තනෝපද

| පඨම පුරිස | | මජ්ඣිම පුරිස | | උත්තම පුරිස | |
|---|---|---|---|---|---|
| ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන |
| ගච්ඡතං | ගච්ඡන්තං | ගච්ඡස්සු | ගච්ඡව්හෝ | ගච්ඡෙ | ගච්ඡාමසෙ |
| භවතං | භවන්තං | භවස්සු | භවව්හෝ | භවෙ | භවාමසෙ |
| වසතං | වසන්තං | වසස්සු | වසව්හෝ | වසෙ | වසාමසෙ |
| ධාවතං | ධාවන්තං | ධාවස්සු | ධාවව්හෝ | ධාවෙ | ධාවාමසෙ |
| ලිඛතං | ලිඛන්තං | ලිඛස්සු | ලිඛව්හෝ | ලිඛෙ | ලිඛාමසෙ |

## අභ්‍යාස

1. පහත දැක්වෙන ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

i. අජ්ජතනී ආඛ්‍යාතයෙන් කියවෙන්නේ කිනම් කාලය ද ?

ii. ගච්ඡතු, දදන්තු, වදාහි, කරොථ, ලභාමි, වසාම යන පඤ්චමී ආඛ්‍යාත විභක්ති පද යොදා වාක්‍ය හයක් සාදන්න.

iii. අජ්ජතනී හා පඤ්චමී ආඛ්‍යාත විස්තර කෙරෙන බාලාවතාර පාඨ සොයා ලියන්න.

iv. √භූ (භව) ධාතුව පඤ්චමී පරස්සපදයෙහි වරනගා, එහි තේරුම ලියන්න.

v. √හර ධාතුව අජ්ජතනී පරස්සපදයෙහි වරනගා, එහි තේරුම ලියන්න.

2. 'සාගරො' පාඨයෙන් ආඛ්‍යාත පද දහයක් උපුටා දක්වා පහත වගුව සම්පූර්ණ කරන්න.

| ආඛ්‍යාත පදය | පඤ්චමී ආඛ්‍යාතය | | අජ්ජතනී ආඛ්‍යාතය | |
|---|---|---|---|---|
| | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| 1.භවති | භවතු | භවන්තු | අභවී, භවී | අභවිංසු, භවිංසු |
| 2. | | | | |
| 3. | | | | |
| 4. | | | | |
| 5. | | | | |
| 6. | | | | |
| 7. | | | | |
| 8. | | | | |
| 9. | | | | |
| 10. | | | | |

3. √කර ධාතුව අජ්ජතනී ආඛ්‍යාත උභය පදයේත්, √චර ධාතුව පඤ්චමී ආඛ්‍යාත උභය පදයේත් වරනඟා දක්වන්න.

4. පහත දැක්වෙන වගු සම්පූර්ණ කරන්න.

1 වගුව

| ධාතුව | පඨම පුරිස | | මජ්ඣිම පුරිස | | උත්තම පුරිස | |
|---|---|---|---|---|---|---|
| | එකවචන | බහුවචන | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| √පච | පචතු | | පච, පචාහි | | | පචාම |
| √චර | | චරන්තු | | චරථ | චරාමි | |
| √භජ | | | භජ, භජාහි | | | |
| √තර | | | | තරථ | | |
| √හර | | | | | | |

## 2 වගුව

| ධාතුව | පඨම පුරිස | | මජ්ඣිම පුරිස | | උත්තම පුරිස | |
|---|---|---|---|---|---|---|
| | එකවචන | බහුවචන | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| √පච | අපචී,පචී<br>අපචි,පචි | | අපචො,<br>පචො | | අපචිං,<br>පචිං | |
| √චර | | අචරිංසු,<br>චරිංසු | | අචරිත්ථ,<br>චරිත්ථ | චරාමි | අචරිම්හා,<br>චරිම්හා<br>අචරිම්හ,<br>චරිම්හ |
| √භජ | | | | | | |
| √තර | | | | තරථ | | |
| √හර | | | | | | |

5. පහත වාක්‍ය සිංහලට නගන්න.
i. පියදාසො පාණිනා මණිං ගණ්හි.
ii. තුම්හෙ අතිථීනං ආහාරං දදිත්ථ.
iii. යාචකස්ස භරියා මග්ගෙ ධාවි.
iv. සිස්සා පරිවෙණං පීඨානි හරිංසු.
v. අහං දීපම්හි සබ්බත්ථ (සියලු තැන්හි) අචරිං.

6. පහත වාක්‍ය පාලියට නගන්න.
i. සොරා කඩුවකින් මිතුරාට ගැසුවේ ය.
ii. වෙළෙන්දෝ ගමෙන් ගමට ගියාහුය.
iii. මම දිනපතා සවස මුහුදු වෙරළට ගියෙමි.
iv. සොරු රජුගේ වාහනය සොරකම් කළහ.
v. අපි සාගරයේ රළ දුටුවෙමු.

**න තං කම්මං කතං සාධු, යං කත්වා අනුතප්පති**

**පසුතැවිලිවීමට සිදුවන පව්කම් නොකිරීම මැනවි.**

(ධම්මපදපාළි, බාලවග්ග, 8 ගාථාව)

# නවමො පාඨො

## අඞ්ගුලිමාලො



පුබ්බෙ ජම්බුදීපෙ අහිංසකො නාම කුමාරො විහාසි. සො සිප්පං උග්ගණ්හිතුං ආචරියගෙහං අගමි. සො කුමාරො තදා තස්මිං පාපකෙහි සිස්සෙහි සද්ධිං විස්සසි. තෙ සිස්සා ආචරියං පිසුණාවාචං අවොචුං. ආචරියො'පි තස්ස අහිංසකකුමාරස්ස කුජ්ඣි. ගරුපූජාය අඞ්ගුලිමාලං පූජෙතුං අහිංසකකුමාරං ආණාපෙසි. සො කුමාරො අටවිං ගන්ත්වා මනුස්සෙ මාරෙත්වා අඞ්ගුලියො ඡින්දිත්වා මාලං කත්වා ධාරෙති. තං මාලං නිස්සාය සො 'අඞ්ගුලිමාලොති' පඤ්ඤායි. සො අතීව රුද්දො චොරොති සකලජම්බුදීපෙ පාකටො අහොසි.

(පාලි රචනා 1)

**පදමාලාව**

**ජම්බුදීපෙ** - දඹදිව
**සිප්පං** - ශිල්ප
**උග්ගණ්හිතුං** - ඉගෙන ගන්නට
**ආචරියගෙහං** - ගුරු ගෙදරට
**පාපකෙහි සිස්සෙහි** - පවිටු ශිෂ්‍යයන් සමඟ
**විස්සසි** - හිතවත් විය
**පිසුණාවාචා** - කේලාම්
**කුජ්ඣි** - කිපුණේය
**ආණාපෙසි** - අණ කළේය

| | | |
|---|---|---|
| **අටවිං** | - | කැලයට |
| **අඞ්ගුලියො** | - | ඇඟිලි |
| **ධාරෙති** | - | දරයි |
| **නිස්සාය** | - | නිසා |
| **පඤ්ඤායි** | - | ප්‍රකට විය |
| **රුද්දා** | - | රෞද්‍ර |
| **සකල** | - | සියලු |
| **පාකටො** | - | ප්‍රකට |

## අභ්‍යාස

**කො නාම** - කිනම් **කුහිං** - කොහි **කෙහි** - කවුරුන් සමග
**කෙ** - කවරහු **කස්ස** - කවරෙකුට **කිං** - කුමක්
**කිං නිස්සාය**- කුමක් නිසා

1. 'අඞ්ගුලිමාලො' ඡේදය සිංහලට නගන්න.
2. පහත දැක්වෙන ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

උදා: **අහිංසකො නාම කුමාරො කුහිං විහාසි?**
**අහිංසකො නාම කුමාරො ජම්බුදීපෙ විහාසි**

i. ජම්බුදීපෙ කො නාම කුමාරො විහාසි?
ii. සො උග්ගණ්හිතුං කුහිං අගමි?
iii. සො කෙහි විස්සසි?
iv. කෙ කස්ස පිසුණාවාචං අවොචුං?
v. ආචරියො කිං කාතුං කුමාරං ආණාපෙසි?
vi. සො කුහිං ගන්ත්වා මනුස්සෙ මාරෙසි?
vii. සො මනුස්සෙ මාරෙත්වා කිං අකාසි?
viii. කිං නිස්සාය සො අඞ්ගුලිමාලොති පඤ්ඤායි?

## ආඛ්‍යාතපද

මේ වන විට ඔබ **වත්තමානා, භවිස්සන්ති, අජ්ජතනී** හා **පඤ්චමී** ආඛ්‍යාත විභක්ති පිළිබඳ සාමාන්‍ය දැනීමක් ලබා ඇති අතර මතකයෙන් ඒ ඒ ආඛ්‍යාත විභක්ති වරනගා ලිවීමට හැකියාවක් ලබා ඇත. මෙම පාඩමේ

දී ආඛ්‍යාත පද නිවැරදි ව භාවිත කරන්නේ කෙසේදැයි උගනිමු. ආඛ්‍යාත පදයක කාල භේදයක්, පුරුෂ භේදයක් හා වචන භේදයක් දක්නට ලැබෙයි. ඒ ඒ ආඛ්‍යාතපද සඳහා ඒ ඒ පුරුෂයට අදාළ උක්ත පද ද වෙයි. පහත දැක්වෙන වගුව බලන්න.

| පුරිස | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨම | සො | තෙ |
| මජ්ඣිම | ත්වං | තුම්හෙ |
| උත්තම | අහං | මයං |

**සො, සා, තං, පුරිසො, කඤ්ඤා, ඵලං, සොමපාලො, ආචරියො, ලතා, භික්ඛු** ආදිය පඨමපුරිස ඒකවචනයේත්, **තෙ, තා, තායො, තානි, පුරිසා, කඤ්ඤායො, ඵලානි, ආචරියා, ලතායො, භික්ඛවො** ආදිය පඨමපුරිස බහුවචනයේත් උක්ත පද ලෙස යෙදේ.

**ත්වං** යන පදය මජ්ඣිමපුරිස ඒකවචනයෙත් **තුම්හෙ** යන පදය මජ්ඣිමපුරිස බහුවචනයේත් යෙදේ.

**අහං** යන පදය උත්තමපුරිස ඒකවචනයෙත් **මයං** යන පදය උත්තමපුරිස බහුවචනයේත් යෙදේ.

ආඛ්‍යාත පදයක වචන භේදය, පුරුෂ භේදය මෙන් ම කාල භේදයක් ද තිබේ. ආඛ්‍යාත පදය වෙනස් කිරීමෙන් එහි කාලය දැක්විය හැකි ය. පහත වාක්‍ය දෙස බලන්න.

1. මනුස්සො ගාමං **ගච්ඡති.** (මිනිසා ගමට යයි.)
2. කස්සකා ඛෙත්තං **කසන්ති.** (ගොවියෝ කෙත සීසාත්.)
3. ත්වං පොත්ථකං **පඨසි.** (නුඹ පොත පාඩම් කරහි.)
4. තුම්හෙ ඔදනං **පචථ.** (නුඹලා බත පිසහු.)
5. අහං සිප්පං **උග්ගණ්හාමි.** (මම ශිල්ප උගනිමි.)
6. මයං රූපානි **පස්සාම.** (අපි රූප බලමු.)

ඉහත වාක්‍යවල ආඛ්‍යාත පද වර්තමානකාලිකය. එම ආඛ්‍යාත පද ම **භවිස්සන්ති** ආඛ්‍යාතයෙන් යෙදූ විට අනාගතකාලික වේ.

1. මනුස්සා ගාමං **ගච්ඡිස්සන්ති.** (මිනිසා ගමට යන්නේය.)
2. කස්සකා ඛෙත්තං **කසිස්සන්ති.** (ගොවියෝ කෙත සීසාන්නාහ.)
3. ත්වං පොත්ථකං **පඨිස්සසි.** (නුඹ පොත පාඩම් කරන්නෙහි.)
4. තුම්හෙ ඔදනං **පචිස්සථ.** (නුඹලා බත පිසන්නෙහු.)
5. අහං සිප්පං **උග්ගණ්හිස්සාමි.** (මම ශිල්ප ඉගෙන ගන්නෙමි.)
6. මයං රූපානි **පස්සිස්සාම.** (අපි රූප බලන්නෙමු.)

එම ආඛ්‍යාත පද **අජ්ජතනී** ආඛ්‍යාතයෙන් යෙදූ විට වාක්‍ය අතීතකාලික වන බව පහත නිදසුන් බැලීමෙන් ඔබට වැටහෙනු ඇත.

1. මනුස්සා ගාමං **ගච්ඡි.** (මිනිසා ගමට ගියේය.)
2. කස්සකා ඛෙත්තං **කසිංසු.** (ගොවියෝ කෙත වැපිරූහ.)
3. ත්වං පොත්ථකං **අපඨෝ.** (නුඹ පොත පාඩම් කළෙහි.)
4. තුම්හෙ ඔදනං **අපචිත්ථ.** (නුඹලා බත පිසුවෙහු.)
5. අහං සිප්පං **අඋග්ගණ්හිං.** (මම ශිල්ප ඉගෙන උගත්තෙමි.)
6. මයං රූපානි **පස්සිම්හ.** (අපි රූප බැලුවෙමු.)

පඤ්චමී ආඛ්‍යාත පද යෙදීමෙන් එම වාක්‍ය **ආශීර්වාද** හෝ **විධික්‍රියා** සහිත වාක්‍ය බවට පත් වේ.

1. මනුස්සා ගාමං **ගච්ඡතු.** (මිනිසා ගමට යේවා.)
2. කස්සකා ඛෙත්තං **කසන්තු.** (ගොවියෝ කෙත වපුරත්වා.)
3. ත්වං පොත්ථකං **පඨ/පඨාහි.** (නුඹ පොත පාඩම් කරාවා.)
4. තුම්හෙ ඔදනං **පචථ.** (නුඹලා බත පිසහුවා.)
5. අහං සිප්පං **උග්ගණ්හාමි.** (මම ශිල්ප උගනිමි.)
6. මයං රූපානි **පස්සාම.** (අපි රූප බලමු.)

## අභ්‍යාස

1. නිවැරදි අඛ්‍යාත පදය යොදා පහත වාක්‍ය පිටපත් කරන්න.

i. අහං මයහං පුත්තස්ස අස්සං අදදිං / අදදිම්හ.
ii. ත්වං අම්හාකං ගාමං ගච්ඡති / ගච්ඡසි.
iii. පුත්තා ගිරිං ආරුහි / ආරුහිංසු.
iv. තුම්හෙ වාණිජස්ස අජෙ කිණිස්සථ / කිණිස්සසි.
v. මයං භූපතිනො අජෙ වික්කිණන්ති / වික්කිණිම්හ.
vi. කවයො කපීනං ආහාරං දදන්ති / දදාති.
vii. මයං ගිරිම්හා චන්දං පස්සිම්හ / පස්සිං.
viii. ත්වං අතිථීනො ආහාරං දදෙ‍ා / දදාති.
ix. සො දීපම්හි විචරති / අචරිං.
x. සුනඛො ගාමං ධාවිස්සති / ධාවිස්සන්ති.

2. පහත දැක්වෙන වගුව සම්පූර්ණ කරන්න.

| ධාතුව | වත්තමානා | භවිස්සන්ති | අජ්ජතනී | පඤ්චමී |
|---|---|---|---|---|
| √භුජ | භුඤ්ජති | | | |
| √චර | | චරිස්සති | | |
| √කර | | | | |
| √හර | හරථ | | හරිංසු | |
| √කීළ | කීළති | | | |

3. පහත දැක්වෙන වාක්‍ය අතීතකාලයට හරවා ලියන්න.

i. පුත්තො ධම්මං උග්ගණ්හාති.
ii. චොරා අස්සෙ ගණ්හන්ති.
iii. දාසා මිත්තානං සුනඛෙ හරන්ති.
iv. චොරො ගොණං චොරෙති.
v. අහං මෙත්තං භාවෙමි.

4. පහත දැක්වෙන වාක්‍ය අනාගත කාලයට හරවා ලියන්න.

i. කම්මකාරා දීපෙ ජාලෙන්ති.
ii. සීහා මිගෙ මාරෙන්ති.
iii. මයං බුද්ධස්ස ධම්මං සුණාම.
iv. තුම්හෙ බුද්ධස්ස ධම්මං සුණාථ.
v. මයං වාණිජස්ස මන්දිරං පස්සාම.

5. පඤ්චමී ආඛ්‍යාතය යෙදුණු පාලි පාඨ දහයක් සොයා ලියන්න.

6. පහත දැක්වෙන ආඛ්‍යාත පද යොදා ගනිමින් දී ඇති නිදසුන අනුව වගුව සම්පූර්ණ කරන්න.

| ආඛ්‍යාත පදය | ආඛ්‍යාත විභක්තිය | පුරුෂය | වචනය | සිංහල අර්ථය |
|---|---|---|---|---|
| 1. කිණන්ති | වත්තමානා | පඨමපුරිස | බහුවචන | මිළදී ගනිත් |
| 2. තිට්ඨතු | | | | |
| 3. වසිස්සති | | | | |
| 4. වදථ | | | | |
| 5. ගච්ඡිංසු | | | | |
| 6. චොරෙසුං | | | | |
| 7. ගණ්හිස්සථ | | | | |
| 8. අකිණො | | | | |
| 9. සමාදියාමි | | | | |
| 10. අපචි | | | | |

7. පහත දැක්වෙන වාක්‍ය සිංහලට නගන්න.

i. දාරකො යාචකස්ස වත්ථං දෙති.
ii. අස්සා වෙගෙන මග්ගෙ ධාවිංසු.
iii. තුම්හෙ සිප්පං උග්ගණ්හිතුං ආචරියං නමස්සථ.
iv. ආකාසෙ විහඞ්ගමා චරන්ති.

v. අඞ්ගුලිමාලො මනුස්සෙ මාරෙත්වා සතතං පාපං ආකාසි.
vi. තුම්හෙ ආකාසෙ සුරියං පස්සථ.
vii. අහං ගරුපූජාය පොත්ථකං කිණාමි.
viii. ගාමණී නාම රාජකුමාරො 'වීරො'ති පඤ්ඤායි.
ix. මයං පිසුණාවාචං වා ඵරුසාවාචං න වදාම.
x. භික්ඛවො උපාසකානං ධම්මං දෙසෙසුං.

8. පහත දැක්වෙන වාක්‍ය පාලියට නගන්න.

i. ඇතා කැලයේ වාසය කරයි.
ii. මම අතින් පහනක් ගන්නෙමි.
iii. ඔහු මිතුරන් සමග පාසලට යන්නේය.
iv. නුඹ ගමට ගියෙහි.
v. මම පාසැලට ගොස් ශිල්ප උගත්තෙමි.

**භජෙථ මිත්තෙ කල්‍යාණෙ, භජෙථ පුරිසුත්තමෙ**

**කල්‍යාණ මිත්‍රයන් හා උතුම් පුද්ගලයන් ඇසුරු කරන්න.**

(ධම්මපදපාළි, පණ්ඩිතවග්ග, 3 ගාථාව)

# දසමො පාඨො

## සුවො



සුවස්ස කීරො’ති අපරනාමං හොති. එසො පක්ඛී අතිරුචිරවණ්ණො ච නරානං පියො ච හොති. තස්ස පක්ඛපත්තානි හරිතානි. පාදානි සුවණ්ණවණ්ණානි ච දීඝානි ච භවන්ති. චඤ්චු ච ලොහිතා. තස්ස වාලධී ච අතිමනොහරා. තථෙව දීඝා. එතෙ පක්ඛිනො අරඤ්ඤෙසු උත්තුඞ්ගරුක්ඛෙසු සුසිරානි කත්වා සුඛං විහරන්ති. මධුරානි ඵලානි ච වීහයො ච ඛාදන්ති. එතෙ කදාචි න මංසානි ඛාදන්ති. මරිචං සුවානං පියං. ලොණං සුවානං විසං භවති. තෙසං චඤ්චු වඞ්කා. තථෙව අතිතිඛිණා. ඵලානි විදාලෙත්වා ඛාදන්ති. එතෙ පක්ඛිනො ගණගණා’ව විහරන්ති. සණ්ඩසණ්ඩා’ව ගගනතලෙ උඩ්ඩෙන්ති. තෙ එකකො’ව කදාචි’පි න ජීවන්ති. මනුස්සා සුවපොතකෙ ගහෙත්වා අයොමයෙසු පඤ්ජරෙසු පක්ඛිපිත්වා පොසෙන්ති. සම්මා සික්ඛාපිතා සුවපොතකා මනුස්සා විය මනුඤ්ඤං භාසන්ති. තස්මා මනුස්සා සුවපොතකෙසු දයං කරොන්ති.

(පාලි රචනා 2)

**පදමාලාව**

| | | |
|---|---|---|
| **සුවො** | - | ගිරවා |
| **කීරො** | - | ගිරවා |
| **අපර** | - | අනික් / වෙනත් |
| **පක්ඛී** | - | පක්ෂි |
| **අතිරුචිරවණ්ණ** | - | ඉතා මනහර වර්ණැති |
| **පක්ඛපත්තානි** | - | පියාපත් |

| | | |
|---|---|---|
| **හරිත** | - | කොළපාට |
| **සුවණ්ණවණ්ණ** | - | රන්වන් |
| **චඤ්චු** | - | හොටය |
| **ලොහිත** | - | රතුපාට |
| **වාලධී** | - | වලිග |
| **උත්තුඞ්ගරුක්ඛ** | - | ඉතා උස් ගස් |
| **මරිච** | - | මිරිස් |
| **වඞ්ක** | - | වක් |
| **විදාලෙති** | - | පළයි |
| **සණ්ඩසණ්ඩ** | - | රංචු රංචු |
| **අයොමය** | - | යකඩින් කළ |
| **මනුඤ්ඤං** | - | සිත්කලු (ලෙස) |
| **දයං කරොති** | - | ආදරය කරයි |

## අභ්‍යාස

**කිං** - කුමක් **කීදිසං** - කෙබඳු **කුහිං** - කොහි **කථං** - කෙසේ

1. 'සුවො' ඡේදය සිංහලට නගන්න.
2. පාලියෙන් පිළිතුරු ලියන්න.

උදා: **කානි සුවණ්ණවණ්ණානි ච දීඝානි ච භවන්ති?**
**පාදානි සුවණ්ණවණ්ණානි ච දීඝානි ච භවන්ති**

i. කිං සුවස්ස අපරනාමං?
ii. සුවස්ස රූපං කීදිසං?
iii. තෙ කුහිං ජීවන්ති?
iv. කිං සුවානං පියං?
v. කිං සුවානං විසං?
vi. සුවානං චඤ්චු කීදිසො?
vii. සුවා චඤ්චූහි කිං කරොන්ති?
viii. එතෙ පක්ඛිනො කථං විහරන්ති? කථං උඩ්ඩෙන්ති?
ix. මනුස්සා සුවපොතකෙ කථං පොසෙන්ති?
x. සම්මා සික්ඛාපිතා සුවපොතකා කථං භාසන්ති?

## වාක්‍ය නිර්මාණය

### වර්තමානකාල සරල වාක්‍ය නිර්මාණය

භාෂාවක් නිර්මාණය වීමට අක්ෂර, පද හා වාක්‍යය යන කොටස් තුන අවශ්‍ය වේ. අක්ෂර නිසා පදත්, පද නිසා වාක්‍යයත්, වාක්‍යය නිසා භාෂාවත් නිර්මාණය වේ. ඕනෑ ම භාෂාවක වාක්‍යය නිර්මාණය පිළිබඳ පළමු පියවර වන්නේ සරල වාක්‍යයක් නිර්මාණය කිරීමට ඉගෙනීමයි.

සරල වාක්‍යයක් නිර්මාණය කර ගැනීමට ප්‍රධාන පද දෙකක් අවශ්‍ය වේ. එනම්, උක්තපදය හා ආඛ්‍යාතපදයයි.

| | | |
|---|---|---|
| උක්තපදය | ආඛ්‍යාත පදය | සරල වාක්‍ය |

කර්තෘකාරක වාක්‍යයක **කර්තෘපදය** උක්ත වේ. කර්මකාරක වාක්‍යයක **කර්මපදය** උක්ත වේ. **උක්තවීම** යනු ප්‍රධාන වීමයි. හෙවත් ආඛ්‍යාත පදයෙන් උක්තපදයේ ලක්ෂණ ප්‍රකාශවීමයි. කර්තෘකාරක සෑම වාක්‍යයක ම උක්තපදය පඨමා විභක්තියෙන් සිටියි.

උදා:- ගජො ගච්ඡති.

මෙම කර්තෘකාරක වාක්‍යයේ '**ගජො**' යන කර්තෘපදයේ ඇති ප්‍රථමපුරුෂ එකවචන ලක්ෂණ '**ගච්ඡති**' යන ආඛ්‍යාත පදයෙන් ද ප්‍රකාශ වී තිබේ. '**ගච්ඡති**' යනු ප්‍රථමපුරුෂ එකවචන කර්තෘකාරක ආඛ්‍යාත පදයකි.

| පුරිස | එකවචන | බහුවචන |
|---|---|---|
| **පඨම පුරිස** | සො (ඔහු) | තෙ (ඔවුහු) |
| **මජ්ඣිම පුරිස** | ත්වං (නුඹ) | තුම්හෙ (නුඹලා) |
| **උත්තම පුරිස** | අහං (මම) | මයං (අපි) |

ඉහත වගුවෙහි දක්නට ලැබෙන්නේ පුරුෂ භේදය නාමපදවල දක්නට ඇති ආකාරයයි. ඒ අනුව උත්තම පුරුෂයට **අහං** - **මයං** යන පද දෙකත්, මධ්‍යමපුරුෂයට **ත්වං** - **තුම්හෙ** යන පද දෙකත් යෙදේ. සෙසු සියලු නාමපද ප්‍රථමපුරුෂයෙන් යෙදේ. මෙහි උත්තමපුරුෂයෙන් තමන් පිළිබඳවත්, මධ්‍යම පුරුෂයෙන් ඉදිරියෙහි සිටින්නන් පිළිබඳවත්, ප්‍රථමපුරුෂයෙන් අන්‍යයන් පිළිබඳවත් ප්‍රකාශ වේ.

උක්තය හා ආඛ්‍යාතය අතර ඇති මනා සම්බන්ධය පුරුෂභේදය හා වචනභේදය පදනම් කරගෙන ඇති වේ. නාමපද හා ක්‍රියාපද අතර ඇති සමාන බව එම ලක්ෂණ දෙක ඇසුරින් පමණක් පෙනෙන නිසා ය.

| උක්තය | | | ආඛ්‍යාතය | | |
|---|---|---|---|---|---|
| පඨමපුරිස | ඒකවචන | සො | ගච්ඡති | ඒකවචන | පඨමපුරිස |
| | බහුවචන | තෙ | ගච්ඡන්ති | බහුවචන | |
| මජ්ඣිමපුරිස | ඒකවචන | ත්වං | ගච්ඡසි | ඒකවචන | මජ්ඣිමපුරිස |
| | බහුවචන | තුම්හෙ | ගච්ඡථ | බහුවචන | |
| උත්තමපුරිස | ඒකවචන | අහං | ගච්ඡාමි | ඒකවචන | උත්තමපුරිස |
| | බහුවචන | මයං | ගච්ඡාම | බහුවචන | |

ඉහත වගුවෙහි දැක්වෙන පරිදි උක්තය ප්‍රථමපුරුෂ නම් ආඛ්‍යාතය ප්‍රථමපුරුෂ වීමත්, උක්තය ඒකවචන නම් ආඛ්‍යාතය ඒකවචන වීමත් අනිවාර්ය වූවකි. ඒ අනුව සරල වාක්‍යයක උක්තය හා ආඛ්‍යාතය අතර ඇති සම්බන්ධය මෙසේ හඳුනා ගනිමු.

I. **උක්තය ප්‍රථමපුරුෂ ඒකවචන නම් ආඛ්‍යාතය ප්‍රථමපුරුෂ ඒකවචන විය යුතු ය.**

**සො ගච්ඡති.**
**බුද්ධො දෙසෙති.**

II. **උක්තය ප්‍රථමපුරුෂ බහුවචන නම් ආඛ්‍යාතය ප්‍රථමපුරුෂ බහුවචන විය යුතු ය.**

**තෙ ගච්ඡන්ති.**
**බුද්ධා දෙසෙන්ති.**

III. උක්තය මධ්‍යමපුරුෂ ඒකවචන නම් ආඛ්‍යාතය මධ්‍යමපුරුෂ ඒකවචන විය යුතු ය.

**ත්වං ගච්ඡසි.**

**ත්වං වන්දසි.**

IV. උක්තය මධ්‍යමපුරුෂ බහුවචන නම් ආඛ්‍යාතය මධ්‍යමපුරුෂ බහුවචන විය යුතු ය.

**තුම්හෙ ගච්ඡථ.**

**තුම්හෙ ලිඛථ.**

V. උක්තය **උත්තමපුරුෂ** ඒකවචන නම් ආඛ්‍යාතය **උත්තමපුරුෂ** ඒකවචන විය යුතු ය.

**අහං ගච්ඡාමි.**

**අහං පඨාමි.**

VI. උක්තය **උත්තමපුරුෂ** බහුවචන නම් ආඛ්‍යාතය **උත්තමපුරුෂ** බහුවචන විය යුතු ය.

**මයං ගච්ඡාම.**

**මයං සුණාම.**

ඒ ඒ ශබ්ද ලිංග වශයෙන් හා අන්ත වශයෙන් වෙනස් ව වරනැගෙන නිසා උක්තපදය සාදා ගැනීම පාලි නාම වරනැගීම ආශ්‍රයෙන් හඳුනාගත යුතු ය. පහත දැක්වෙන්නේ විවිධ ශබ්ද පඨමා විභක්තියේ වරනැගී ඇති ආකාරයයි.

| පඨමා විභත්ති | | |
|---|---|---|
| ශබ්දය | ඒකවචන | බහුවචන |
| බුද්ධ | බුද්ධො | බුද්ධා |
| රාජ | රාජා | රාජානො |
| අග්ගි | අග්ගි | අග්ගී, අග්ගයො |
| ගච්ඡන්ත | ගච්ඡං, ගච්ඡන්තො | ගච්ඡන්තො, ගච්ඡන්තා |
| ගුණවන්තු | ගුණවා, ගුණවන්තො | ගුණවන්තො, ගුණවන්තා |

| | | |
|---|---|---|
| දණ්ඩී | දණ්ඩී | දණ්ඩී, දණ්ඩිනො |
| භික්ඛු | භික්ඛු | භික්ඛු, භික්ඛවො |
| පිතු | පිතා | පිතරො |
| සත්ථු | සත්ථා | සත්ථාරො |
| කඤ්ඤා | කඤ්ඤා | කඤ්ඤා, කඤ්ඤායො |
| මාතු | මාතා | මාතරො |

උදා:-

| **එකවචන** | **බහුවචන** |
|---|---|
| රාජා යුජ්ඣති. | රාජානො යුජ්ඣන්ති. |
| අග්ගි පජ්ජලති. | අග්ගයො පජ්ජලන්ති. |
| භික්ඛු වන්දති. | භික්ඛවො වන්දන්ති. |
| පිතා කසති. | පිතරො කසන්ති. |
| කඤ්ඤා හසති. | කඤ්ඤායො හසන්ති. |
| මාතා පචති. | මාතරො පචන්ති. |

## කර්මපදයක් සහිත වාක්‍යය නිර්මාණය

කර්තෘගේ ක්‍රියාවට යටත් වන පදය කර්මපදයයි. කර්තෘකාරක වාක්‍යයවල දී එම කර්මපදය දුතියා විභක්තියෙන් යෙදේ.

ලුද්දකො **මිගං** මාරෙති.

මෙම වාක්‍යයෙහි **ලුද්දකො** යන කර්තෘපදය සිදුකරන ක්‍රියාව වන්නේ **මාරෙති** යන්නයි. මෙහි කර්තෘ කරන ක්‍රියාවට යටත් වන පදය ලෙස **මිගං** යන්න යෙදී තිබේ. එය කර්මාර්ථය ප්‍රකාශ කරන නිසා දුතියා විභක්තියෙන් සිටියි. ඕනෑ ම වාක්‍යයක සකර්මක ධාතුවකින් සෑදුණු ආඛ්‍යාත පදයක් ඇති විට ඊට කර්මපදයක් එක් කළ හැකි ය.

ඒ ඒ ශබ්ද ලිංග වශයෙන් හා අන්ත වශයෙන් වෙනස් ව වරනැගෙන නිසා දුතියා විභක්ති පදයක් සාදා ගැනීම පාලි නාම වරනැගීම ඇසුරෙන් හඳුනාගත යුතු ය. පහත දැක්වෙන්නේ විවිධ ශබ්ද දුතියා විභක්තියේ වරනැගී ඇති ආකාරයයි.

| දුතියා විභත්ති | | |
|---|---|---|
| බුද්ධ | බුද්ධං | බුද්ධෙ |
| රාජ | රාජානං, රාජං | රාජානො |
| අග්ගි | අග්ගිං | අග්ගී, අග්ගයො |
| ගච්ඡන්ත | ගච්ඡන්තං | ගච්ඡන්තෙ |
| ගුණවන්තු | ගුණවන්තං | ගුණවන්තෙ |
| දණ්ඩී | දණ්ඩිනං දණ්ඩිං | දණ්ඩී, දණ්ඩිනො |
| භික්ඛු | භික්ඛුං | භික්ඛූ, භික්ඛවො |
| පිතු | පිතරං | පිතරෙ, පිතරො |
| සත්ථු | සත්ථාරං | සත්ථාරෙ, සත්ථාරො |
| කඤ්ඤා | කඤ්ඤං | කඤ්ඤා, කඤ්ඤායො |
| මාතු | මාතරං | මාතරෙ, මාතරො |

උදා:-

උපාසකො බුද්ධං වන්දති. උපාසකා බුද්ධෙ වන්දන්ති.
භික්ඛු **රාජං** ඔවදති. භික්ඛවො **රාජානො** ඔවදන්ති.
බ්‍රාහ්මණො **අග්ගිං** ජාලෙති. බ්‍රාහ්මණා **අග්ගයො** ජාලෙන්ති.
අසප්පුරිසො **භික්ඛුං** ගරහති. අසප්පුරිසා **භික්ඛවෙ** ගරහන්ති.
පුත්තො **පිතරං** සක්කරොති. පුත්තා **පිතරෙ** සක්කරොන්ති.

කර්තෘකාරක වාක්‍යවල දී කර්මපදය ඒකවචනයෙන් හෝ බහුවචනයෙන් තිබීම නිසා උක්තය හා ආඛ්‍යාතය අතර වෙනසක් සිදු නො වේ. සුදුසු පරිදි කර්මපදය දුතියා විභක්ති ඒකවචනයෙන් හෝ බහුවචනයෙන් යෙදිය හැකි ය.

උදා:-

උපාසකො බුද්ධං වන්දති. (උපාසකයා බුදුරදුන් වඳියි.)
උපාසකා බුද්ධං වන්දන්ති. (උපාසකවරු බුදුරදුන් වඳිති.)
උපාසකො බුද්ධෙ වන්දති. (උපාසකයා බුදුවරුන් වඳියි.)
උපාසකා බුද්ධෙ වන්දන්ති. (උපාසකවරු බුදුවරුන් වඳිති.)

ආඛ්‍යාත පදය වෙනස්වීමට කර්මපදය බලනොපාන බව ඉහත නිදසුන් ඇසුරෙන් වටහා ගන්න. ආඛ්‍යාතය වෙනස් වන්නේ කර්තෘපදය අනුව පමණි.

## අභ්‍යාස

1. පහත වාක්‍යවල හිස්තැන් සුදුසු පද යොදා පුරවන්න.

i. භාෂාවක් නිර්මාණය වීමට ................ ...................... හා .........................
යන කොටස් තුන අවශ්‍ය වේ.
ii. කර්තෘකාරක වාක්‍යයක උක්ත වන්නේ ...................................... පදයයි.
iii. කර්මකාරක වාක්‍යයක උක්ත වන්නේ ........................................ පදයයි.
iv. සෑම වාක්‍යයක ම උක්තපදය තිබෙන්නේ ........................... විභක්තියෙනි.
v. ගච්ඡති යනු ............... පුරුෂ, ............ වචන, .................... කාරක ආඛ්‍යාත පදයකි.
vi. උක්තය ප්‍රථමපුරුෂ ඒකවචන නම් ආඛ්‍යාතය ................ ................ විය යුතු ය.
vii. උක්තය වශයෙන් උත්තමපුරුෂ ඒකවචනයේ යෙදෙනුයේ ..................
යන නාමපදයයි.
viii. උක්තය වශයෙන් මධ්‍යමපුරුෂ බහුවචනයේ යෙදෙනුයේ ....................
යන නාමපදයයි.
ix. කර්තෘකාරක වාක්‍යයවලදී කර්මපදය .................... විභක්තියෙන් සිටියි.
x. මාතු ශබ්දය පඨමාවිභක්ති ඒකවචනයේ ........................... යනුවෙන් ද බහුවචනයේ ................... යනුවෙන් ද වරනැගේ.

2. පහත දැක්වෙන ආකාරයේ පාලි වාක්‍යය ලියා දක්වන්න.

i. ප්‍රථමපුරුෂ ඒකවචන වාක්‍යය තුනක් සාදන්න.
ii. එම වාක්‍යය බහුවචනයට හරවා ලියන්න.
iii. මධ්‍යමපුරුෂ ඒකවචන වාක්‍යය තුනක් සාදන්න.
iv. එම වාක්‍යය බහුවචනයට හරවා ලියන්න.
v. උත්තමපුරුෂ බහුවචන වාක්‍යය තුනක් ලියන්න.
vi. එම වාක්‍යය ඒකවචනයට හරවා ලියන්න.

3. ලිංග වශයෙන් හා අන්ත වශයෙන් වෙනස් ව වරනැගෙන ශබ්ද දහයක් තෝරා ගෙන ඒවා පඨමා විභක්තියේ වරනැගෙන අයුරු වගුවක ලියා දක්වන්න.

4. පහත වාක්‍යවල හිස්තැන් සුදුසු කර්මපද යොදා සම්පූර්ණ කරන්න.

i. පුරිසො ................ (ගොණ) පහරති.
ii. ගොණො .................. (සට) භින්දති.
iii. සොමපාලො .................. (ගාම) ගච්ඡති.
iv. දෙවදත්තො ................... (පබ්බත) ආරුහති.
v. සා ................... (වාපි) ඔතරති.
vi. මනුස්සා .................... (ථෙර) වන්දන්ති.
vii. සොණා ................. (චොර) අනුබන්ධන්ති.
viii. ව්‍යගසා .................... (මිග) මාරෙන්ති.
ix. බිළාලා .................. (මූසික) ගණ්හන්ති.
x. වානරා ................. (රුක්ඛ) ආරුහන්ති.

5. පහත වගුවේ ඇති පද සුදුසු පරිදි යොදා වාක්‍යය දහයක් නිර්මාණය කරන්න.

| උක්තපදය | කර්මපදය | ආඛ්‍යාතය |
|---|---|---|
| බාලකො | ජලං | ඔවදති |
| ආචරියො | පුප්ඵානි | පිබාමි |
| යාචකො | ගාමං | පූජෙථ |
| බුද්ධො | භික්ඛං | භුඤ්ජාම |
| සිස්සා | ධම්මං | යාචති |
| අහං | පොත්ථකානි | දෙසෙති |
| තුම්හෙ | කන්දුකං | පඨන්ති |
| මයං | සිස්සෙ | පහරති |
| ත්වං | ඔදනං | ගච්ඡසි |

**සබ්බගන්ථප්පහීනස්ස, පරිළාහො න විජ්ජති**

**සියලු කෙලෙස් ගැට ප්‍රහීන කළ උතුමන්ට සිත් තැවුලක් නො වේ.**

(ධම්මපදපාළි, අරහන්තවග්ග, 1 ගාථාව)

# එකාදසමො පාඨො

## නාළිකෙරරුක්ඛො



නාළිකෙරො පන තාලවග්ගෙසු රුක්ඛෙසු එකො භවති. ලඞ්කාදීපෙ අයං රුක්ඛො අවිරලො. තථා'පි දීපස්ස මජ්ඣභාගෙ සීතාධිකත්තා එසො රුක්ඛො සම්මා න රූහති. වෙළාසන්නපදෙසෙසු මනුඤ්ඤං වඩ්ඪන්ති. නාළිකෙරරුක්ඛො උච්චතො දසරතනප්පමාණතො පට්ඨාය යාව පඤ්ඤාසරතනා වඩ්ඪති. අස්මිං රුක්ඛෙ පනස, ලබුජ රුක්ඛෙසු විය සාඛායො න සන්ති. තථාපි මොරපිඤ්ඡසදිසායො සාඛායො විජ්ජන්ති. කාලන්තරෙන පරිණතායො ඉමායො සාඛායො රුක්ඛතො මුඤ්චිත්වා පතන්ති. තෙන රුක්ඛස්ස න කොචි අන්තරායො. ලඞ්කාදීපිකා මනුස්සා ඉමාහි සාඛාහි අත්තනො ගෙහච්ඡදනං කරොන්ති. නාළිකෙරඵලස්මිං අන්තො මධුරං ජලං අත්ථි. තස්මා තරුණනාළිකෙරඵලානි අතිමධුරානි භවන්ති.

(පාලි රචනා 2)

පද මාලාව

| | | |
|---|---|---|
| **තාලවගෙගසු රුක්ඛෙසු** | - | තාලවර්ගයේ ගස් අතරෙහි |
| **අවිරලො** | - | විරල නොවේ. / දුලබ නැත |
| **වෙළාසන්න** | - | වෙරළබඩ |
| **සීතාධිකත්තා** | - | සීතළ අධික නිසා |
| **උච්චතො** | - | උසින් |
| **මනුඤ්ඤං** | - | හොඳින් / සිත්කළු ලෙස |
| **දසරතන** | - | දසරියන් |
| **පඤ්ඤාසරතන** | - | පනස් රියන් |
| **පනස** | - | කොස් |
| **ලබුජ** | - | දෙල් |
| **මොරපිඤ්ජ** | - | මොනරපිල් |
| **සදිස** | - | සමාන, වැනි, මෙන් |
| **විජ්ජන්ති** | - | විද්‍යාමාන වෙති |
| **පරිණත** | - | මුහුකුරා ගිය |
| **මුඤ්චිත්වා** | - | ගිළිහී |
| **ගෙහච්ඡදනං** | - | ගෙහි වහළ |

## අභ්‍යාස

**කස්මා** - කුමක් හෙයින් **කුහිං** - කොහි **කිත්තප්පමාණො** - කොපමණ
**කිං** - කුමක්

1. 'නාළිකෙරරුක්ඛා' ඡේදය සිංහලට නගන්න.
2. පහත දැක්වෙන ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

උදා: **නාළිකෙර රුක්ඛා කුත්ථ මනුඤ්ඤං වඩ්ඪන්ති?**
**නාළිකෙර රුක්ඛා වෙළාසන්නපදෙසෙසු මනුඤ්ඤං වඩ්ඪන්ති**

i. දීපස්ස මජ්ඣභාගෙ කස්මා නාළිකෙරරුක්ඛා සම්මා න රූහන්ති?
ii. නාළිකෙරරුක්ඛා කුහිං මනුඤ්ඤං රොහති?
iii. නාළිකෙරරුක්ඛා උච්චතො කිත්තප්පමාණො?
iv. මනුස්සා නාළිකෙරසාඛාහි කිං කරොන්ති?
v. කස්මා තරුණනාළිකෙරඵලානි අතිමධුරානි භවන්ති?

### අතීතකාල වාක්‍යය නිර්මාණය

වාක්‍යයක උක්ත වන පදයට වඩා ආඛ්‍යාතපදය වෙනස්වීම්වලට පත් වේ. එහි කාලභේදය, කාරකභේදය, පදභේදය යන ලක්ෂණ ද දක්නට ලැබේ. එහෙත් උක්තවත් නාමපදය කාලභේදය, කාරකභේදය හෝ පදභේදය නිසා වෙනස් නොවේ.

නිම කළ ක්‍රියාව අතීතකාලයෙන් ප්‍රකාශ වේ. ''මිගො ධාවි'' යන වාක්‍යයේ 'ධාවි' යන ආඛ්‍යාත පදයෙන් සිදු වූ ක්‍රියාර්ථයක් ප්‍රකාශ වේ. වාක්‍යයේ උක්තය වූ 'මිගො' යන පදය අයත් වන පඨමපුරිස හා ඒකවචන ලක්ෂණ ආඛ්‍යාතපදයේ ද එලෙස ම දක්නට ලැබේ 'ධාවි' යනු පඨමපුරිස ඒකවචන ආඛ්‍යාත පදයකි. කාලභේදය නාමපදයක දැකිය නොහැකි නිසා උක්තය වෙනස් නොවේ. පහත දැක්වෙන වගුව බලන්න.

| උක්තය | | | ආඛ්‍යාතය | | |
|---|---|---|---|---|---|
| පඨමපුරිස | ඒකවචන | සො | ගච්ඡි | ඒකවචන | පඨමපුරිස |
| | බහුවචන | තෙ | ගච්ඡිංසු | බහුවචන | |
| මජ්ඣිමපුරිස | ඒකවචන | ත්වං | ගච්ඡො | ඒකවචන | මජ්ඣිමපුරිස |
| | බහුවචන | තුම්හෙ | ගච්ඡිත්ථ | බහුවචන | |
| උත්තමපුරිස | ඒකවචන | අහං | ගච්ඡිං | ඒකවචන | උත්තමපුරිස |
| | බහුවචන | මයං | ගච්ඡිම්හා | බහුවචන | |

උදා:-

| | |
|---|---|
| සො අගච්ඡි. | තෙ අගච්ඡිංසු. |
| රාජා යුජ්ඣි. | රාජානො යුජ්ඣිංසු |
| ත්වං ගච්ඡො. | තුම්හෙ ගච්ඡිත්ථ |
| ත්වං ඛාදො. | තුම්හෙ ඛාදිත්ථ |
| අහං ගච්ඡිං. | මයං ගච්ඡිම්හ |
| අහං වන්දිං. | මයං වන්දිම්හා. |

### අනාගතකාල වාක්‍යය නිර්මාණය

සිදු නොකළ ක්‍රියාව අනාගත කාලයෙන් ප්‍රකාශ වේ. ''උපාසකො වන්දිස්සති'' යන වාක්‍යයේ 'වන්දිස්සති' යන ආඛ්‍යාත පදයෙන් මතුවට

සිදුවන ක්‍රියාවක් ප්‍රකාශ වේ. මෙම වාක්‍යයෙහි දී **උක්තපදය** හා **ආඛ්‍යාතපදය** පුරුෂභේදයෙන් හා වචනභේදයෙන් සමාන ව යෙදී තිබේ. එය පහත දැක්වෙන වගුව ආශ්‍රයෙන් හඳුනාගත හැකි ය.

| උක්තය | | | ආඛ්‍යාතය | | |
|---|---|---|---|---|---|
| **පඨමපුරිස** | එකවචන | **සො** | **ගච්ඡිස්සති** | එකවචන | **පඨමපුරිස** |
| | බහුවචන | **තෙ** | **ගච්ඡිස්සන්ති** | බහුවචන | |
| **මජ්ඣිමපුරිස** | එකවචන | **ත්වං** | **ගච්ඡිස්සසි** | එකවචන | **මජ්ඣිමපුරිස** |
| | බහුවචන | **තුම්හෙ** | **ගච්ඡිස්සථ** | බහුවචන | |
| **උත්තමපුරිස** | එකවචන | **අහං** | **ගච්ඡිස්සාමි** | එකවචන | **උත්තමපුරිස** |
| | බහුවචන | **මයං** | **ගච්ඡිස්සාම** | බහුවචන | |

උදා:-

සො ගච්ඡිස්සති. තෙ ගච්ඡිස්සන්ති.
රාජා යුජ්ඣිස්සති. රාජානො යුජ්ඣිස්සන්ති.

ත්වං ගච්ඡිස්සසි. තුම්හෙ ගච්ඡිස්සථ.
ත්වං බාදිස්සසි. තුම්හෙ බාදිස්සථ.

අහං ගච්ඡිස්සාමි. මයං ගච්ඡිස්සාම.
අහං වන්දිස්සාමි. මයං වන්දිස්සාම.

## කර්මපදයක් සහිත අතීතකාල හා අනාගතකාල වාක්‍යය නිර්මාණය

සරල අතීතකාල හෝ අනාගතකාල වාක්‍යයකට කර්මපදයක් යෙදූ විට කර්මපදයක් සහිත අතීතකාල හෝ අනාගතකාල වාක්‍යයක් සාදාගත හැකි ය.

### අතීතකාල වාක්‍යය

උපාසකො බුද්ධං වන්දි.
උපාසකා බුද්ධෙ වන්දිංසු.
භික්ඛු **රාජං** ඔවදි.
භික්ඛවො **රාජානො** ඔවදිංසු
අසප්පුරිසො **භික්ඛුං** ගරහි.
අසප්පුරිසා **භික්ඛවෙ** ගරහිංසු.

**අනාගතකාල වාක්‍යය**

උපාසකො බුද්ධං වන්දිස්සති.
උපාසකා බුද්ධෙ වන්දිස්සන්ති.
භික්ඛු රාජං ඔවදිස්සති.
භික්ඛවො රාජානො ඔවදිස්සන්ති.
අසප්පුරිසො **භික්ඛුං** ගරහිස්සති.
අසප්පුරිසා **භික්ඛවො** ගරහිස්සන්ති.

## අභ්‍යාස

1. පහත දැක්වෙන වර්තමානකාල ආඛ්‍යාතපදවල අතීතකාල හා අනාගතකාල ආඛ්‍යාතපද යොදා වගුව සම්පූර්ණ කරන්න.

| වර්තමානකාලය | අතීතකාලය | අනාගතකාලය |
|---|---|---|
| රොදති | | |
| තිට්ඨන්ති | | |
| ගච්ඡසි | | |
| නිසීදථ | | |
| වදති | | |
| ධාවථ | | |
| වන්දාමි | | |
| සුණාම | | |

2. පහත වාක්‍යය අතීත හා අනාගත කාලවලට හරවා ලියන්න.

i. දාරකො සයති.
ii. ත්වං රොදසි.
iii. තුම්හෙ නිසීදථ.
iv. සිස්සා සිප්පං උග්ගණ්හන්ති.
v. මාතා ඔදනං පචති.
vi. අහං බුද්ධං සරණං ගච්ඡාමි.
vii. මයං ධම්මං සුණාම.
viii. සොණා මනුස්සෙ භුඬ්කරොන්ති.
ix. ගජො වාපිං ඔරුහති.
x. මනුස්සා වනං පවිසන්ති.

3. ඉරි ඇඳි පද කෙරෙහි අවධානය යොමු කරමින් පහත වාක්‍යය නිවැරදි කර ලියන්න.

i. ලුද්දකෙ සරෙන මිගො විජ්ඣති.
ii. පුත්තා පාදෙහි කුක්කුරා පහරන්ති.
iii. බුද්ධෙන විහාරස්මිං සන්නිපතිතානං මනුස්සානං ධම්මස්ස දෙසෙති.
iv. කඤ්ඤාය ඝටානි උදකෙන පූරෙන්තා ගීතං ගායසි.
v. තුම්හෙ තථාගතස්ස සාවකෙහි නිමන්තෙත්වා දානං දෙම.
vi. අහං ආචරියො හොසි.
vii. අකුසලං පහාය නරානං සප්පුරිසා හවති.
viii. තුම්හෙසු සච්චං අධිගන්තුං ආරහථ.
ix. මයං පුඤ්ඤං ඉච්ඡන්තා සමණානං දානං දදාති.
x. බුද්ධෙ පසීදිත්වා උපාසකෙ දෙවපුත්තො හුත්වා සග්ගලොකෙ උප්පජ්ජි.

4. පහත දක්වෙන ආකාරයේ අයත් අතීතකාල වාක්‍යය ලියා දක්වන්න.

i. ප්‍රථමපුරුෂ ඒකවචන වාක්‍යය පහක් ලියන්න.
ii. එම වාක්‍යය බහුවචනයට හරවා ලියන්න.
iii. මධ්‍යමපුරුෂ ඒකවචන වාක්‍යය පහක් ලියන්න.
iv. එම වාක්‍යය බහුවචනයට හරවා ලියන්න.
v. උත්තමපුරුෂ ඒකවචන වාක්‍යය පහක් ලියන්න.
vi. එම වාක්‍යය බහුවචනයට හරවා ලියන්න.

5. එම වාක්‍යය අනාගතකාලයට හරවා ලියන්න.

**එකං අත්ථපදං සෙය්‍යො, යං සුත්වා උපසම්මති**

**සංසිඳීමට හේතුවන අර්ථවත් එක් පදයක් වුවද ඇසීම උතුම් ය.**

**(ධම්මපදපාළි, සහස්සවග්ග, 1 ගාථාව)**

# ද්වාදසමො පාඨො

## ජලං



මයං ජලෙන විනා ජීවිතුං න සක්කොම. සබ්බෙ පාණිනො ච රුක්ඛලතායො ච ජලෙන ජීවන්ති. ගිම්හානසූරියසන්තාපෙන සන්තත්තා මහාරුක්ඛා'පි සුස්සන්ති. සෙසතිණලතාගච්ඡාදීනං විනාසස්ස කා කථා? තදා තිරච්ඡානගතා අපි මීයන්ති. තෙ කූපෙ ඛණිත්වා වා අඤ්ඤෙන උපායෙන වා ජලං ලද්ධුං න ජානන්ති. අසුද්ධජලපරිභොගෙන නානාරොගා උප්පජ්ජන්ති. උප්පජ්ජමානෙසු රොගෙසු විසූචිකා, අතීසාරාදයො රොගා අතීවභයාවහා භවන්ති. තස්මා ජලං පරිස්සාවෙත්වා වා තාපෙත්වා වා පාතබ්බං, පරිභුඤ්ජිතබ්බං. තථාගතෙනාපි භික්ඛූනං පරිස්සාවනං අනුඤ්ඤාතං. මයං අසුද්ධජලං කථං ජානෙම? අසුද්ධජලෙ කාළවණ්ණා වා හරිතවණ්ණා වා දිස්සති. එකච්චෙසු පදෙසෙසු පන ජරාජිණ්ණවාපීසු තාදිසං වණ්ණවන්තං ජලං පස්සිතුං සක්කා. තාදිසං ජලං මා පරිභුඤ්ජිත්ථ. සුද්ධජලපරිභොගෙන දීඝජීවි භවති. සුද්ධජලෙන උදරාබාධො වා අඤ්ඤො වා කොචි රොගො න සමුට්ඨහති.

(පාලි රචනා 2)

**පදමාලාව**

| | |
|---|---|
| **ගිම්හාන** - | ග්‍රීෂ්ම ඍතුව |
| **සන්තත්ත** - | තැවුණු |
| **සුස්සන්ති** - | වියළෙති |

